චිංගීස් අයිත්මාතව්

# ගුරු ගීතය



චිංගීස් අයිත්මාතව්

# ගුරු ගීතය

නවකතාවකි



දේශුන්ත ප්‍රකාශකයෝ
මොස්කව්
1983

අනුවාදය: දැදිගම වී. රුද්රිගු

Чингиз Айтматов

БАЛЛАДА О ПЕРВОМ УЧИТЕЛЕ

Повесть

*На языке сингала*

ප්‍රථම මුද්‍රණය 1966 ප්‍රගති ප්‍රකාශක
මන්දිරය විසිනි
දෙවන මුද්‍රණය 1983 ද්‍රේදුන්න ප්‍රකාශකයින් විසිනි

සෝවියට් සංගමයේ මුද්‍රිතය

A $\frac{70303-267}{031(01)-83}$ 395-83 4702280200

මම කවුළුව හැරීයෙමි. කාමරය තුළට සිසිල් සුළං හමා එයි. නිල්වන් පැහැදිලි අඩ අඳුරේ හිඳ, මගේ චිත්‍රවල තිබෙන කටු සටහණින් යුත් රූප හා දර්ශන දෙස මහත් ඕනෑකමින් බලන්ට වීමි. ඒ කටු සටහන් කීපවරක්ම මකාදමා මුලසිටම අඳිනලද ඒවාය. එහෙත් චිත්‍රය ගැන යමක් කීමට උචිත වේලාව නොවෙයි මේ. ප්‍රධාන දේ තවම අතට අසුවූ නැති හැඩයි. සිත තුළ ඇතින් බඳා අල්ලාගත නොහැකි ප්‍රීතියක් ඇති කරමිනි, එය පැන නගින්නේ. ගිම්හානයේ අරුණෝදය මෙන් වැඩී එන පැ-හැදිලි බවකින් හා ස්ථිර ගතියකින් යුතුව සැ-

නෙකින් එය පැන නගී. අරුණෝදයේ නිසලතා-වයට වැදෙන මම කල්පනා කරන්ට වීමි. මා මෙසේ හැසුරුණු වාර අපමණය. මගේ චිත්‍රය තවම සිතුවිලි මාත්‍රයකට පමණක් සීමා වී තිබෙන බව ඒ හැම වාරයකදීම මට ඒත්තු ගියේය.

අවසාන නොකළ දෑ ගැන කිට්ටු යහළුවන්ට දන්වා සිටීම අනුමත කරන එකෙකු නොවෙමි, මම. දැඩි ඊර්ෂ්‍යාවකින් යුතුව මගේ වැඩ දෙස බලන නිසා නොවේ මා එසේ සිතන්නේ. අද තොට්ල්ලේ නැලවෙමින් සිටින දරු පැටි-යෙක් හෙට මොන විධියට හැදිවැඩී නැගී සිටීද යන්න සිතාගැනීම අමාරු කාරියක් නිසාය. ඇඳ අවසාන නොකරනලද චිත්‍රයක් ගැන තීරණය කිරීමද අසීරු වැඩකි. එහෙත් මේ වර මගේ රීතීන් මම කඩා දමූවෙමි. අවසාන නොකළ ඒ චිත්‍රය ගැන මහ හඬින් කියා පෑමටත්, එයටත් වඩා ස්පීරලෙස කියන්නේනම්, ඒ ගැන මිනිසුන්ගේ අදහස් උදහස් දැනගැනීමටත් මට වුවමනා වී ඇත.

එය අභිලාෂයක් නොවේ. ඒ කාරිය වෙන අන්දමකට කළ නොහැකිය. ඒ බර තනිවම ඉසිලීමට මට සවි ශක්තියක් නැති නිසාය. ඉතිහාසය මගේ සිත පුබුදුවාලීය. චිත්‍රශිල්පි-යෙකු ලෙස තෙලිතුඩ ගැනීමට පොළඹවන ලද්දේත් ජීවන පුවතකි. එහෙත් ඒ ජීවිත කතාව

කොතරම් විශාලදැයි කියතොත්, එය බදා අල්ලා ගැනීමට මට නොහැකිය. මගේ අදහස් සම්පූර්ණයෙන්ම කියාපෑමට තරම් ශක්තියක් මා තුළ ඇතැයි මා නොසිතන හෙයින් මම බියවෙමි. ජනතාවගේ උපදෙස් මට අවශ්‍යය. තීරණය ගැනීමට ඔව්හු මගපෙන්විය යුත්තාහ. ජනතාව සිතින් මා සමග, චිත්‍රය අසල සිටිය යුතුය. ඔව්හු මා මෙන්ම කැළඹීමට පත්විය යුත්තෝය.

හදවත් තුළ ඇති දයාන්විත බව ගැන දුක් නොවන්න. මා සමීපයට එන්න. ඒ කතාව කීම මගේ යුතුකමකි...

* * *

අපේ අයිලය* කුර්කුරේළව පිහිටා ඇත්තේ උස් කඳුවැටි අසලවූ පුළුල් නිම්න භූමියෙකය. කඳුවැටි අතරින් ගළා බසින කුඩා ගංගාවලින් වැඩිහරියක් අපේ අයිලය හරහා දිවෙයි. අපේ අයිලයට පහළින් කසාක්ස්තානයේ ස්ටෙප්ස් බිම් වල කොටසක් වන, කහ පැහැති මිටියාවතකි. එය වටා කළු පැහැති යෝධ කඳුගැට පෙළකි. මිටියාවත හරහා වැටී තිබෙන දුම්රිය පාර බටහිරින් ක්ෂිතිජය දක්වා විහිද යන්නේ සමතලා බිමක් පසුකැරමිනි.

* අයිල් – කිර්ගිස් සෝවියට සමූහාණ්ඩුවේ ගම්බද පරිපාලන ඒකකයකි

එහෙත් අයිලයට ඉහලින් කඳු ගැටයක් මත පොප්ලර් ගස් දෙකකි. මට බහ තේරෙන අවදියේ පටන්ම ඒ ගස් දෙක දැකපුරුදු බව මතකය. කොයි පැත්තේ සිට අපේ කුර්කු-රේළුවට ඇතුළු වුණද පළමුවෙන්ම ඇසට හසු-වන්නේ මේ ගස් දෙකය. කන්ද මත පිහිටි පහන් කණුසේය, ඒවා. දුම්රියෙන් බැස ස්ටෙප්ස් බිම හරහා අයිලය දෙසට ගමන් කරන මට පළමුවෙන්ම දකින්ට ලැබෙන්නේ අර පොප්ලර් ගස් දෙකය. එසේ වීමට හේතුව ළමා කාලයේදී ලබන හැඟීම් මිනිසකුට වඩාත් අගනා නිසාද නැතිනම් වෘත්තියෙන් මා චිත්‍ර ශිල්පි-යෙකු නිසාදයි කීම උගහටය.

ඒවා එතරම් උස් නො වූවද බොහෝ ඈත සිට බලනවිට නොපෙණුනද, මගේ ඇසට ඒවා අසුවෙයි, මනැසට දැනෙයි.

ඈත පෙදෙස්වල සිට අපේ කුර්කුරේළුවට මා පැමිණි වාර බොහෝය. එහෙත් හැමදාම හදවත කකියන පාළු බවකින් යුතුව මම කල්පනා කළෙමි: "අර පොප්ලර් නිඹුල්ලු, ගස් දෙක ඉක්මණින් පෙනේවිද? අයිලයට හනිකට යා හැකි වේද, පොප්ලර් ගස් සහිත කඳුගැටයට යාමට හැකිද? ඊට පස්සේ ඒ ගස් යට සිටගෙන හිත ප්‍රීතියෙන් උතුරා යනතුරු කොළවල 'සර සර' යන හඬ ඇසීමට ඇත්නම්."

අපේ අයිලයේ නොයෙක් වර්ගවලට අයත්

ගස් එමට තිබේ. එහෙත් අර පොප්ලර් ගස් විශේෂ තැනක් ගනී. ඔවුන්ගේ බස විශේෂ එකකි. එය ගීතයෙන් පිරි ජීව ප්‍රාණයකි. රෑ හෝ දවල් හෝ කොයි වේලේ හෝ මෙහි ආවද, මොවුහු දෙදෙන ඒ මේ අත වැනෙති, උන්ගේ අතු එකිනෙකා වැළඳගනිති, විවිධ ස්වරමාලා අනුව ගයන්නාක් මෙන් කොළ හා අතු ශබ්දයන් නගති. නිහඬව හමන සුළං පහර වැලි තලාව මත නටන්නාක් මෙනි. වරෙක නොපෙණෙන ගිනිදලුවක් සේ හද කිතිකවමින් උණුසුම් කෙදිරීමක් අතු දිගේ දිවයන්නාසේය. සැනෙකින් ඇතිවන, දැඩි නිහැඬියාවකි. පොප්ලර් ගස් එකවර නැගී සිට අනතුරු හඟවමින් හඬනගා සුසුම් ලන්නේ යමක් ගැන පසුතැවිලි වෙන්නාක් මෙනි. වැහි කුණාටු සහ සැඩ සුළං පහරට හසුවන පොප්ලර් ගස් අතු සොලවමින් වැරෙන් ඒ මේ අත වැනෙයි, හඬනගයි. ඒ පීඩාවට අසුවන කොළ ගැලවී වැටෙයි. දවෙමින් නගින ගිනිදළු මෙන්, එවිට ඒ තුරු පෙනේ.

ඊට අවුරුදු ගණනකට පසු මම එහි රහස දැනගතිමි. කඳු ගැටය මත තිබෙන මේ පොප්ලර් ගස් දෙක සුළං පහරට විවෘත වී නග්න වී සිටී. වායු පීඩනයේ ඉතා සුළු වෙනස්වීමකට පවා ඒවා හසුවෙයි. ඉතා සැහැල්ලු සුළං පහරට පවා හැම කොළයක්ම අසුවන්නේ සියුම් ඉඳුරන් ඇතියවුන් සේය.

ඒ චාම් ඇත්ත සොයාගැනීම නිසා මම කලනොකිරුණෙමි. ඒ ළමා හැඟීම් මා කෙරෙන් වෙන්වූයේ නැති අතර අද දක්වා එය මම ආරක්ෂා කරගෙන සිටිමි. කඳු ගැටය මත පිහිටි පොප්ලර් ගස් දෙක අදත් මට පෙනෙන්නෙන් අපූරු ජීවමාන වස්තූන් ලෙසිනි. මගේ ළමා කාලය කොළපාට මායාකාරී වීදුරු කැබැල්ලක් මෙන් ඒ ගස් යට නැවතිණ...

ගිම්හාන නිවාඩුවට පාසල වැසීමට පෙරදා අපේ කොලු නඩය කඳුගැටයට වැදුනේ කුරුළුකූඩු විනාශ කිරීම සඳහාය. කෑකෝ ගසමින්, උරුහන් බාමින් කඳුගැටයට නගින හැම වාරයකදීම, යෝධ-පොප්ලරයන් දෙදෙනා ඒ මේ අත වැනෙමින්, සිය සිසිල් සෙවනින් හා කෝමල හඬ පතුරුවමින්, අප සාදරයෙන් පිළිගන්නේ යැයි කියාපෑවාක්මෙන් මට දැනිණි. පාවහන් නැති මුරණ්ඩු කොල්ලන් වන අපි එකා පිට එකා නගිමින් ගස් බඩ ගාන්නෙමු. අතු රිකිලිගානේ ඇදෙන අප කුරුල්ලන්ගේ රජය ආක්‍රමණය කරන්නේ වේගයෙනි. බියපත්වන කුරුළු රංචු අපට උඩින් කෑකෝ ගසමින් පියාඹති. කුරුල්ලන්ගේ කන්දොස් කිරීයාව අපි ගණනකට වත් නොගත්තෙමු. ගස් මුදුන දක්වා නැංගෙමු. කවුද වැඩිය නිර්භීත, කවුද වැඩිය දක්ෂ! – හිටිහැටියේ ඒ සා උස් මුදුනක සිට, කුරුල්ලෙක් ඉගිලෙන උසක සිට, ඉන්ද්‍ර ජාලමකින් මෙන්

අප ඉදිරියේ ඉමක් නැති විශාල ලෝකය දිස්විය.

මහ පොළවේ දැවැන්ත බව අප පුදුමයට පත්කළේය. අතු උඩ සිට මේ පුදුම දර්ශනය දෙස බලන අපට හුස්ම ගැනීමට පවා නොහැකිව, ගල්ගැසුනාක් මෙන් දැණෙයි. ලෝකයේ විශාලම ගොඩනැගිල්ල සමූහ ගොවිපලේ අස්සගාල බව අපගේ වැටහීම වුවද, මෙතැන සිට බලන විට එය පෙනෙන්නේ කුඩා මඩුවක් මෙනි. අයිලයට පිටුපසින් පැතිර ඇති නැවුම් ස්ටෙප්ස් බිම් දැඩි උෂ්ණය නිසා ඇතිවන රත්වූ වාතයෙන් පැන නගින පටලයට අසුව අතුරු දහන්වී යන්නාක් සේය. ඇස්වලට පේන තෙක් දුර තිබෙන බොර-නිල් පැහැති අහස දෙසත්, දසත පැතිර යන මහපොළව දෙසත් බැලූවෙමු. ඉස්සර ගංගා නදී ඇතැයි සැකනොකළ තැන්වල, නොදුටු තැන්වල ගංගාවන් ගලා බසින සැටි දුටිමු. ඈත ක්ෂිතිජයේ රිදීකෙඳි සේ ගංගානදී දිස්විය. අතුවල නිසලව ඉන්නා අපි මෙසේ සිතුවෙමු: මේ ලෝකයේ කෙළවරද, නැතිනම් තවත් ඈතට අහස විහිදී යන්නේද එහි වලාකුළු තිබේද, ස්ටෙප්ස්බිම් හා ගංගානදී තිබේද? අතුවල අප ඉන්නේ හුස්ම පවා නොගනිමිනි. සැඩ සුළංවල අපූරු හඬත්, එයට මිතුරෙකු ලෙස පිළිතුරු දෙන තුරු ලතාවල කොළ ඈත රටවල අරුම පුදුම තොරතුරු ගැන කියන්නාක් මෙන් නගන හඬත් අපට ඇසිණි.

පොප්ලර් ගස්වල හඬ මා කන්හි වැකුණු විගස මගේ හදවත බියෙන් සහ ප්‍රීතියෙන් සැලෙන්ට විය. ඒ හඬ ඈත රටවල් ගැන කියාපාන්නාක් මෙනි. එදා ම විසින් කල්පනා නොකරනලද දෙයක් තිබිණ: කා විසින්ද ඒ ගස් පැල කරනු ලැබුවේ? මේ ගස් සිටවූ මිනිහා එදා දුටු සිහිනය කුමක්ද, ඒ අප්‍රසිද්ධ පුද්ගලයා මේවා පැල කළේ කිනම් බලාපොරොත්තුවකින්ද?

පොප්ලර් ගස් සහිත කඳුගැට පෙදෙස හඳුන්වන්නේ "දුයිෂෙන්ගේ පාසල" නමිනි. නැතිවූ අශ්වයෙකු සොයන්නෙක් තමාට හමුවන එකෙකු අමතා මෙසේ ඇසූ බව මට මතකය: "ඒයි, යාලුවා මගේ අස්ස මාල්ලාව උඹ දැක්කේ, එහෙම නැද්ද?"—ඔහුට නිතර ලැබුණේ මෙවැනි පිළිතුරකි: "අන්න අර උඩහ පැත්තෙ දුයිෂෙන්ගේ පාසල ළඟ උන් ඊයේ රෑ තණකොළ කෑවා, එතනට ගියාම උඹේ එකාව හොයාගන්ට පුළුවන්." වැඩිහිටියන් අනුකරණය කරමින් අපි, කොල්ලෝ කල්පනා නොකර මෙසේ කෑගැසුවෙමු. "කොල්ලනේ, යමුද දුයිෂෙන්ගේ ස්කෝලෙට, පොප්ලර් ගස් වලට නැගලා කුරුළු කූඩු අවුස්සන්ට!"

ඉස්සර කාලේ ඒ කඳුගැටය මත පාසලක් තිබුණු බව කියනවා මා අසා ඇත. එහෙත් අපට එහි හෝඩුවාවක්වත් සොයාගැනීමට නොහැ-

කිවිය. එහි නෂ්ටාවශේෂ හෝ සොයා ගැනීමේ අදහසින් ළමා කාලයේ දී මා ඇවිද මහන්සිවූ නමුදු කිසිවක් සොයාගැනීමට අපොහොසත් වීමි. පාළු කඳුගැටය "දුයිෂෙන්ගේ පාසල" යැයි හැඳින්වීම පුදුමයට කාරණයක් විය. ඒ දුයිෂෙන් කියන්නේ කාටදැයි මම වැඩිහිටියන්-ගෙන් ඇසුවෙමි. එක් මහල්ලෙක් ඕනෑ එපාවට මෙන් අතක් වනමින් මෙසේ කීය: "කවුද දුයි-ෂෙන්? නොන්ඩි බැටළුගමගේ පරම්පරාවෙන් එන උන්දෑ තමයි ඒ. ඔය සිද්ධිය බොහොම පරණ එකක්. ඒ කාලේ උන්දෑ කොම්සො-මොල් තරුණ සංගමේ හිටියා. ඔය කඳුගැටේ උඩ තිබුනා පාළු මඩුවක්. දුයිෂෙන් ඒ මඩුව අස්පස් කරලා ස්කෝලයක් දමල ළමයින්ට ඉගැන්නුවා. ඒක නමින් විතරයි ස්කෝලෙ හැටියට තිබුණෙ. ආ ඒ කාලෙ තමයි කාලෙ. අස්පයෙකුගේ බෙල්ලෙන් අල්ලලා උගේ පිට-උඩ ඉඳගන්ට පුළුවන් හැම එකාම ඒ දවස් වල ලොක්කෙක්. දුයිෂෙන්ද ඒ වගේමයි. හිතට ආ හැම දෙයක්ම කළා. දැන් ඒ මඩුවෙන් ලී පතුරක්වත් හොයාගන්ට බැහැ. වෙච්ච ප්‍රයෝ-ජනේ නම ඉතුරුවුණ එක විතරයි..."

මා දුයිෂෙන් දැන සිටියේ මඳ වශයෙනි. ඔහු මහළු වියේ පසුවෙන්නෙකි. රාජාලියෙකු-ගේ මෙන් දිගැති ඇස්බැමි වලින් හෙබි ගෙ-තෙම උසැති ශාන්ත පුද්ගලයෙකි. ඔහුගේ ගෙව-

ත්ත පිහිටියේ ගඟෙන් එගොඩ දෙවැනි කඩය පිහිටි වීදියේය. අයිලයේ හිටි දවස්වල දුයිෂෙන් සමූහ ගොවිපලේ මීරාබ්* ලෙස වැඩ කළේය. ඔහු කාලය ගතකළේ කුඹුරු වලමය. කලාතුරකින් ඔහු අපේ වීදිය ඔස්සේ අසු පිටින් ගමන් ගත්තේ, සැඳැලයට බැඳි විශාල කෙත්මෙනයකුත්** සමඟය. අශ්වයාද හාම්පුතාට සමාන බවක් දැරීය. ඌද ඔහු මෙන් කටුගොඩකි, සීන් කකුල් ඇත්තෙකි. මහළු වයසට පත් දුයිෂෙන් පසුව ලියුම් බෙදීමට පටන් ගත්තේය. එහෙත් මා කියන්නේ ඒ ගැන නොවේ. කොම්සොමොල් සාමාජිකයෙකු වශයෙන් මා එදා හිතින් මවාගත්තේ වැඩෙහි දක්ෂ, බිණීමෙහි සමත් අසරුවෙකි. ඔහු අයිලයේ සිටින සටන්කාමීන් අතුරෙන් අතිශය තියුණු සටන්කාමියාය. ඔහු රැස්වීම්වල කතාකරයි. කම්මැලියන්ට සහ හොරුන්ට එදිරිව පත්‍රවලට ලියයි. එහෙත් දිගැති යටි රැවුළක් සහිත මේ ශාන්ත පුද්ගලයා ඉස්සර කොම්සොමොල් සාමාජිකයෙකුවැ සිටියේ යැයි හිතින් මවාගැනීමෙහි පවා මම අසමත්වීමි. එයටත් වඩා මහ පුදුමය තරමක් අකුරු උගත් මේ මිනිහා ළමයින්ට උගැන්වීමයි. එවැන්නක්

---

* මීරාබ් – වාරිමාර්ග පාලකයා

** කෙත්මෙන් – ගොවිතැන් කිරීම සඳහා භාවිතා කරන උදැල්ල වැනි ආයුධයකි

අවබෝධ කරගැනීමට මගේ බුද්ධිය ඉඩනොදෙයි! එළිපිටම කියන්නේ නම් මෙයද අපේ අයිලයේ තුඩ තුඩ පවතින කටකතන්දර වලින් එකකැයි මම සිතුවෙමි. එහෙත් සත්‍යය එයට හාත්පසින්ම වෙනස්විය...

පසුගිය සරත් සමයේදී මට අයිලයෙන් විදුලි පණිවුඩයක් ලැබිණි. ගමේ සමූහගොවිපලේ වැර යොදා සාදා නිම කළ අලුත් පාසල විවෘත කිරීමේ උත්සවයට එන ලෙස කරන ලද ආරාධනායකි එය. එවැනි ප්‍රීතිමත් දවසක ගෙදරට වී සිටීමට මට නොහැකි නිසා මම එහි යාමට සැණකින් තීරණය කළෙමි. උත්සවයට දවස් කීපයකට කලින් මම එහි ගියෙමි. අයිලයේ ගොඩේ ඇවිද දර්ශන කීපයකට වුවමනා කටු සටහන් අඳිමියි සිතාගතිමි. ආරාධනා ලැබූවන් අතර මහාචාර්ය සූලෙයිමානවා මැතිණියද වූවාය. දවස් දෙක තුනක් මෙහි නවතින ඈ පසුව මොස්කව් යන බව මට දැනගන්ට ලැබිණි.

ඒ තේජාන්විත කාන්තාව ළමා වියේදී නගරයට ගියේ අපේ අයිලයේ ඉපදී හැදී වැඩුණු පසුව බව මම දනිමි. නගර වැසියෙකුවූ පසුවය මා ඇය හඳුනාගත්තේ. තරබාරු කයකින් හෙබි ඈ එකල මැදිවියෙහි පසුවූවාය. මනාසේ පීරනලද ඇගේ හිසකෙස් අතරින් පතර පැසී තිබිණි. සුප්‍රසිද්ධ මේ කාන්තාව සරසවියේ විද්‍යා-අංශයක් භාරව සිටි අතර දර්ශනවාදය ගැන දේශ-

නයන් කළාය. විද්‍යා පීඨයේ සේවය කරන්නී, නිතර පාහේ විදේශ සංචාරයේ යෙදුනාය. වැඩ කටයුතු බහුල කාන්තාවක්වූ ඈ සමග ළඟින් ආශ්‍රය කිරීමට මට අවස්ථාවක් නොලැබිණි. එහෙත් කොහේ හමුවුනද, ඒ හමුවීම් ඉතා කෙටි වූවද ඈ අයිලයේ තොරතුරු මගෙන් අසයි. මගේ චිත්‍ර ගැන ඇගේ අදහස් කියාපායි. මම ඇට මෙසේ කීමට ඉටාගතිමි:

"අල්තීනායි සූලෙයිමානවා, අයිලයට ගිහිං ගම්මුන් හමුවෙලා කතාබහ කිරීම හොඳයි නෙවද. ගම්මු ඔබ ගැන හොඳින් දන්නවා, ඔබ නිසා ආඩම්බර වෙනවා. ඒ ගොල්ල ඔබ ගැන දන්නෙ අයිලයට ලැබෙන ආරංචි අනුවයි. එහෙත් සමහරු මෙහෙම කියනවා. අපේ සුප්‍රසිද්ධ මහාචාර්ය තුමී අප සමග ආශ්‍රය කිරීමට වැඩි කැමැත්තක් නැහැ. ඇට අපේ අයිලයට-කුර්කුරේඋවට එන පාර අමතක වෙලා."

"සත්තකින්ම අයිලයට ගිහිං එන්ට ඕන," යැයි තරමක් අපහසු ලෙස අල්තීනායි සූලෙයිමානවා කියයි. "කුර්කුරේඋවට යන්ට මටත් හොඳටම ආසයි, එහෙ ගිය කාලයක්වත් මතක නෑ. අයිලයේ අපේ නෑයින් නැති එක ඇත්තයි. ඒ වුනාට, සත්තකින්ම අයිලයට යන්ට ඕන. අයිලයට ගිහිං එන්ට ලොකු ආසාවක් මා තුළ උපන්නා."

පාසල විවෘතකිරීමේ මංගල මහා සභාව පටන්-

ගැනීමට ඔන්න-මෙන්න කියා තිබියදී සුලෙයි-මානවා මහාචාර්ය තුමිය අයිලයට පැමිණියාය. ඇගේ මොටෝ රථය දුටු සමූහ ගොවියෝ වැල නොකැඩී මහපාරට දුව ආහ. අඳුණන අය මෙන්ම නාඳුණන අයද, වැඩිහිටියන් මෙන්ම බාලයෝද, ඇට අතදී ආචාර කිරීමට ඉදිරි පත්වූහ. අල්තීනායි සුලෙයිමානවා මෙතරම් කුළුපග හමුවීමක් බලාපොරොත්තු නුවූ බව කිවයුතුය. ඈ තරමක් කලබල වූ බව පෙණෙන්ට තිබිණි. දැත් එක්කොට පපුව මත තබාගත් ඈ ගම්මුන්ට ආචාර කළේ හිස සහ උඩුකයද පාත්කිරීමෙනි. ඇය වටා රැස්වැ සිටි පිරිස අතරින් ඈ රැස්වීමේ සභාපති මඩුල්ල වෙත ලඟාවූයේ අමාරුවෙනි.

අල්තීනායි සුලෙයිමානවා සිය ජීවිත කාලය තුලදී රැස්වීම් සෑහෙන සංඛ්‍යාවකට සහභාගි වූවාට සැක නැත. ඒ රැස්වීම් වලදී ඈ ලැබූ ගෞරවය සුළු පටු නොවන අතර එයින් ඈ සන්තෝෂයක්ද ලබන්ට ඇත. එහෙත් මේ කුඩා ගම්බද පාසලේදී ඇය පිළිගත් ගම්මුන් විසින් දක්වනු ලැබූ ළයාන්විත බව නිසා ඇගේ සිත කැළඹිණ. දෙනෙතින් කඩා හැලුනු සතුටු කඳුළු නවත්වා ගැනීම සඳහා ඈ දැරූ ප්‍රයත්නය ඉමහත්ය.

මංගල මහා සභාවේ කතාවලින් ඉක්බිතිව, පයනියර්වරු බාල දක්ෂයෝ මහත් ගෞරවයෙන්

සුලෙයිමානවා මැතිණියට රතු ලේන්සුවක්ද, මල් කළඹක්ද පිළිගැන්වූහ. පාසලේ සමරු පොතේ පළමුවැනි අත්සන තැබීමේ ගෞරවයද ඈට හිමිවිය. ඉන්පසු පාසලේ ආධුනික නාට්‍ය කවයේ මෙහෙයීමෙන් පවත්වන ලද විවිධ ප්‍රසංගය දකුම් කලු බවක් සහ ප්‍රීතිමත් බවක්ද ඉසිලිය. අනතුරුව පාසලේ අධ්‍යක්ෂක වරයා අමුත්තන්වූ අපටද ගුරු පිරිසට සහ සමූහ ගොවිපලේ ක්‍රියා කාරීන්ටද තම නිවසට එන ලෙස ආරාධනා කළේය.

අල්තිනායි සුලෙයිමානවාගේ පැමිණීම නිසා ඇතිවූ ප්‍රීතිය සැඟවීමට කිසිවකු ඉදිරිපත් නොවීය. පට පිළී වලින් සරසනලද පුටුවක් ඈ සඳහා වෙන්කර තිබිණ. හැම කෙනෙක්ම ඈ කෙරෙහි ගරු සැලකිලි දක්වීම් වස් විශේෂ උනන්දුවක් පෙන්වූහ. මෙවැනි අවස්ථාවලදී සැමදා මෙන් හඬනගා කතාකිරීම්ද, ප්‍රීතිමත් සාකච්ඡාද, සච්දිය පිරීම්ද සෑහෙන්ට, කෙරිණ. ගම්බද ගැටවරයෙක් උත්සව පවත්වන ගෙට වැද විදුලි පුවත් මිටියක් ගෙහිමියා අත තැබීය. විදුලි පුවත් අති' නත ගියේය. ආදි ශිෂ්‍යයෝ පාසල විවෘත කිරීම නිසා ශුභ පතමින් එවූ විදුලි පුවත්ය ඒවා.

''විදුලි පුවත් ගෙනාවේ අර දුයිෂෙන් ලොක්කාද?'' යි අධ්‍යක්ෂක ඇසීය.

''ඔව්, රුස්වීමේදී මිනිසුන්ට ඇසෙන්ට කිය-

එනු පිණිස වේලාසනින් විදුලි පුවත් ගේන්ට ඕනෑ නිසා අශ්වයාට පාර දිගටම තැලුවා. නමුත් වේලාවට ගේන්ට බැරිවීම නිසා අපේ ලොකු උන්නැහේ කණගාටු වෙනවා'' යැයි ගැටවරයා පිළිතුරු දුන්නේය.

''එයාට අසු පිටින් බැහලා එන්ට කියාපන්!''

දුයිෂෙන්ට අඬගැසීම පිණිස ගැටවරයා ගියේ-ය. මා අසල අසුන්ගෙන සිටි අල්තිනායි සුලෙයි-මානාවා තරමක් නොසන්සුන් වූවා, අමතක වූ දෙයක් හිටිහැටියේ සිහියට නගන්ට වෑයම් කරන්නාක් වැනි පුදුම ගතියක් පෑවාය. ඔය කතා කරන්නේ කොයි දුයිෂෙන් ගැනදැයි ඕ මගෙන් ඇසුවාය.

''ආ, ඒ සමූහ ගොවිපළේ ලියුම් බෙදන්නා ගැන. මහළු දුයිෂෙන්ව ඔබ හඳුනනවාද?''

අස්ථිර ලෙස හිස සෙලවූ ඈ නැගී සිටීමට සැරසුනාය. එහෙත් එවේලම වාගේ අශ්වයෙක් ජනේලය පසුකර යන හඬ කණෙහි වැකිණි. ගැටවරයා හැරී ආවේය.

''මම එයාට එන්ට කීවා. ලියුම් බෙදන්ට තියනවයි කියලා එයා ගියා''.

''ඔහෙ ගිහිං බෙදපුවාවේ. නවත්වන්ට උව-මනා නැහැ. නැත්නම් වෙන්නෙ මහල්ලන් සමග කයිකතන්දර කීමටයැ'' යි එකෙකුගේ කටින් පිටවූයේ ඉබේටම මෙනි.

''ආ එහෙම කියන්ට එපා. අපේ දුයිෂෙන්

ගැන දන්නේ නෑ. එයා නීතියට වැඩ කරන මිනිහෙක්. භාරගත් වැඩේ ඉවර කරන තුරු ඒ මිනිහා නවතින්නේ නෑ.''

''ඇත්ත. ඒ මිනිහා පුදුම කෙනෙක්, යුද්දේදි තුවාල වුනු නිසා උක්රයිනයේ ඉස්පිරිතාලෙක හිටියා. ඉන් පස්සේ උක්රයිනයේම නැවතුනා. මෙහෙට ආවේ අවුරුදු පහකට ඉස්සෙල්ලා. නහින-දෙහින කාලෙ අයිලයට එන්ට ඕනැයි කියලයි මෙහෙ ආවෙ. තනි කඩයෙක් මෙන් තවම ජීවත් වෙන්නෙ...''

''ඒ වුණත් මිනිහා ආවානම් වඩාත් හොඳයි... ආ දුන් ඉතින් කමක් නෑ'', යි ගෙහිමියා කීය.

''සහෝදරවරුනි, අපි ඉස්සර දුයිෂෙන්ගෙ ස්කෝලේ ඉගෙනගත්තා, සමහරුන්ට මතක ඇති.'' අයිලයේ ගරු කටයුතු පැරැන්නෙක් සිය බීම විදුරුව එසවීය. ''එහෙත් දුයිෂෙන් හෝඩියෙ අකුරු සියල්ලම නොදන සිටියා වෙන්ට පුළුවන්'' යැයි හෙතෙම ඇස් හකුළුවමින් හා හිස වනමින් කීය. මව්කයට පත්වූ බවක් මෙන්ම උපහාසාත්මක බවක්ද ඔහුගේ විලාසය කියා පෑවේය.

''සත්තකින්ම, ඒ විධියට තමයි සිද්ද වුනේ'' එකවර කීපදෙනෙක් කීහ.

හැම දෙනාම සිනාසුනහ.

''ඒ ගැන මොනව කියනවද! දුයිෂෙන් ආරම්භ නොකරපු වැඩක් ඉතුරුවෙලා තියනවද.

අපි හිතුවෙ එයා ඇත්තටම ගුරුවරයෙක් කියල- යි.''

සිනා හඬ නිවී ගිය පසු බීම වීදුරුව අතින් ගත් මිනිසා දිගටම කතා කළේය:

''අපේ ඇස් ඉදිරිපිට මිනිස්සු හැදී වැඩී තියෙනවා. රට පුරාම කීර්තියක් දිනාගෙන තියෙනවා අපේ අල්තිනායි පඩිවරීය. අපි හැම කෙනෙකුම එයගේ මැද පාසල ඉවර කරල තියනවා. බොහොම දෙනෙක් උසස් අධ්‍යාප- නයක් ලබා තියෙනවා. අද අපේ අයිලයේ මැද මහා පාසලක් විවෘත කළා. අපේ ජීවිත කොතරම් දුරට වෙනස් වෙලා තිබේද යන්න එයින් පෙනී යනවා. අනාගතයේදීත් කූර්කූ- රේඋ අයිලයේ දූ පුතුන් කාලය අනුව ඉදිරි- යෙන්ම යන අය වේවායි පතා සව්දිය පුරමු!''

නැවතත් හැම දෙනාම ශබ්ද නගන්ටත්, මිත්‍රලීලාවෙන් කතා කරමින් සව්දිය පුරන්ටත් පටන් ගත්හ. එහෙත් අල්තිනායි සුලෙයිමානවා පමණක් ලජ්ජාවෙන් රත් පැහැගත් මුහුණින් යුතුව සිය බීම වීදුරුව දෙතොල් මත තබා ආපසු එය මේසය මත තැබුවාය. උත්සව ප්‍රීති- යෙන් කතාබහ කරමින් හුන් මිනිසුන්ට ඇගේ වෙනස්වීම නොපෙනිණි.

අල්තිනායි සුලෙයිමානවා කීපවරක්ම ඔර්- ලෝසුව දෙස බැලුවාය. අමුත්තන් මහ මගට බැස විසිර යාමට පටන්ගත් පසු දොල පාර

අසල සිටගත් ඈ මහත්වූ ඕනෑකමකින් යුතුව, කඳුගැට මත පිහිටි පොප්ලර් ගස් දෙස බලන්ට වූවාය. සරත් සමය නිසා එහි කොළ රත් පැහැයක් ගෙන ඇත. ඈත ස්ටෙප්ස් බිම්වල නිල් පැහැති ක්ෂිතිජයේ හිරු බැසයමින් තිබිණි. නිවියන හිරු එළිය පොප්ලර් ගස් මුදුනට වැටීම නිසා මලානික, දුක්මුසු රත් පැහැයක් ඇතිවිය.

මම අල්තිනායි සුලෙයිමානවා වෙත ගියෙමි.

''දැන් ගස්වල කොළ හැලෙන වාරය. වසන්තයේදී ගස් පීදීගෙන එනවිට හැබෑ ලස්සන'' යැයි මම ඇට කියුවෙමි.

''මමත් මේ දැන් හිතුවේ ඔය ගැනමයි'' කියමින් දිග සුසුමක් හෙළූ ඈ මදක් නිසලව සිට තොල මතුලාය: ''ඔව්, හැම ජීව ප්‍රාණයකටම තමාගේම වසන්තයකුත් තමාගේම සරත් සමයකුත් තිබෙනවා.''

වයසින් පැසුණු ඇගේ මුහුණේ හම හැකිලී ගොස් තිබිණ. ඇස්කර වටා පිහිටි රැලි දුක්මුසු බවක් දැරීය. ඒ මත ශෝකය පළවන සෙවනැල්ලක් වැටුණාක් මෙනි. මා ඉදිරි පිට සිටින්නේ අල්තිනායි සුලෙයිමානවා පඬිවරිය නොව, දුකෙ හිදී හඬා වැළපෙන, සැපෙහිදී සිනාසී ප්‍රීතිවන කිර්ගීස් ගැහැණියක් බව සැණෙකින් මට පෙනීගියේය. ඉතාම උස කඳු මුදුන්වලට පමණක් නොඇසෙන අපේ ගීතයන් ගයන ඒ සුන්දර තරුණ විය ගැන විද්‍යාධර කාන්තාව ම-

තක් කළ සැටියකි මට දැණුනේ. පොප්ලර් ගස් දෙස බලා සිටි ඈ යමක් කියන්ට මෙන් සූදානම්වූ නමුදු නිහඬ වූවාය. හිටිහැටියේ ඇස් කන්නාඩි කුට්ටම පැළඳ ගත් ඕ මෙසේ ප්‍රශ්න කළාය:

"මොස්කව් යන දුම්රිය මෙතැනින් යන්නේ එකොළහටද?"

"ඔව් එකොළහට."

"එහෙනම් මම ලෑස්ති වෙන්ට ඕන."

"ඇයි හිටිහැටියේම? ඔබ මෙහි දවස් කීපයක් නවතින්ට පොරොන්දු වුනා නේද, අල්තිනායි සුලෙයිමානවා. ගම්මු ඔබට යන්ට ඉඩ දෙන එක්ක නැහැ."

"අපොයි බැහැ. මට හදිසි වැඩ තියනවා. දැන්ම යන්ට ඕන."

ගම්මුන් කොතරම් කරුණු පැහැදිලි කොට, සිය අමනාපය ප්‍රකාශ කළද, අල්තිනාය සුලෙයිමානවා සිය අදහස වෙනස් නොකැරැගත්තාය.

ඒ අතර අඳුර පැතිරෙන්නට විය. අමනාපයට පත් ගම්මුන් ඈට මොටෝ රථයට ගොඩවැදීමට ඉඩ දුන්නේ, ඈ නැවත සුමානයක් හෝ ඊට වැඩි කලක් ගමේ නවතින බවට පොරොන්දුවූ පසුවය. අල්තිනායි සුලෙයිමානවා හැරලීම සඳහා මම දුම්රිය පලට ගියෙමි.

හිටිහැටියේම ආපසු යන්ට තරම් අල්තිනායි සුලෙයිමානවා ඉක්මන්වූයේ ඇයි? අද වැනි

අවසක ගම්මුන්ගේ සිත් රිදවීම නුවණට හුරු වැඩක් නොවන බව නොකිවමනාය. යන අතර ඒ ගැන ඇගෙන් ඇසීමට මා සූදානම්වූ නමුදු කතාව පටන් ගැනීමට ධෛර්යයක් මා තුළ නොතිබිණ. උපායයන් නොදන්නෙකු ලෙස පෙනී යතියි සිතූ නිසා නොව ඇගේ තීරණය වෙනස් කිරීමට බැරි බව පෙනීගිය නිසාය මා ඇගෙන් එවැනි ප්‍රශ්න නොඇසුවේ. දුම්රිය පලට යනතුරු නිශ්ශබ්දව ගමන් කළ ඇ යම්කිසිවක් ගැන තදින් කල්පනා කරන බව පෙණෙන්ට තිබිණි.

දුම්රිය පලට ළඟාවූ පසු මම ඇගෙන් මෙසේ ඇසූවෙමි:

''අල්තීනායි සුලෙයිමානවා ඔබ හිතේ අමාරුවකින් වගේ. ගම්මු ඔබගේ හිත රිදෙව්වාද?''

''ඒක යස කතාවක්! හීනෙකින් වත් එහෙම හිතන්න එපා! මගේ හිත රිදුනේ කා නිසාද? මම අමනාපවුනේ මා නිසාමයි.''

අල්තීනායි සුලෙයිමානවා ගමින් පිටවූවාය. දවස් කීපයකට පසු නගරයට ගිය මට හදිසියෙන් ඇගෙන් ලියුමක් ලැබිණි. බලාපොරොත්තු රහිත ලෙස තමා මොස්කව්හි නවතින බව සඳහන් කළ අල්තීනායි සුලෙයිමානවා මෙසේද ලියූවාය:

''ම විසින් කළ යුතු වැඩ ගොඩක් තිබුණද ඒ සියල්ල අතපසු කරමිනි මා ඔබට මේ ලියුම

ලියන්නේ... මා ලියන දේ වැදගත් යැයි ඔබ සිතන්නේ නම්, මා කියන දේ ගැන අනික් අයට විස්තර කිරීම සඳහා මේ ලියුම ප්‍රයෝජ-නයට ගන්නේ කෙසේදැයි කල්පනා කර බලන ලෙස ඉල්ලා සිටිමි. මෙය වැදගත් වන්නේ අපේ අයිලයට විතරක් නොවේ. මුළු මහත් තරුණ පරම්පරාවටමය. එවැනි තීරණයකට මා එළඹුණේ බොහෝ කල් කල්පනා කිරීමෙන් ඉක්බිතිවය. මෙය ජනතාව ඉදිරිපිට කරන පා පොච්චාරණයකි. මගේ යුතුකම මවිසින් ඉටුකළ යුතුය. වැඩි වැඩියෙන් ජනතාව මේ ගැන දැනගත් තරමට මගේ සිත්වේදනාව අඩුවනු ඇත. මා අමාරුවේ වැටේය යන බියෙන් කිසි-වක් සැඟවීමට උත්සාහ කරන්ට එපා...''

ඇගේ ලිපිය නිසා ඇතිවූ හැඟීමෙන් යුතුව මම දවස් කීපයක්ම ඇවිද්දෙමි. අල්තීනායි සූලෙ-යිමානවාගේ නාමයෙන් එම කතාව කීම හැර වඩාත් හොඳ ක්‍රමයක් සිතීමෙහි ලා මම අ-පොහොසත් වීමි.

* * *

එය සිදුවුනේ 1924 දීය. ඔව්, හරියටම ඒ අවුරුද්දේදී...

අද අපේ සමූහ ගොවිපළ තියෙන තැන ඉස්සර දුගී දුප්පත් අහිංසකයින්ගේ අයිලයක් තිබිණ. ඒ කාලෙදි මගේ වයස අවුරුදු 14

කි. මා නැවතී සිටියේ මියගිය මගේ තාත්තාගේ නෑයෙකුගේ ගෙදරය. මගේ අම්මාද ජීවතුන් අතර නොවූවාය.

සරත් සමයේදී, තරමක් පොහොසත් ගොවීහු ශීත කාලය සඳහා කඳුකරයට ගියහ. ඉන් අනතුරුව සොල්දාදුවෙකුගේ කබායක් හැඳගත් නාඳුණන ගැටවරයෙක් අපේ අයිලයට ආවේය. මට ඔහුගේ කබාය හොඳහැටි මතක තබාගැනීමට හැකිවූයේ, එය කළු පැහැති ලොම් රෙද්දකින් මසා තිබුනු නිසා විය යුතුය. මහ පාරවලින් ඈත්ව කොන්වී තිබූ කඳු වලින් වැසීගත් අපේ අයිලයට රජයේ කබායක් හැඳගත් මේ ගැටවරයාගේ පැමිණීම විශේෂ සිද්ධියක් විය.

ඔහු යුද්ධ හමුදාවේ අණදෙන නිලධාරීයෙකැයි යන රාවයක් පළමුවෙන්ම පැතිර ගියේය. ඒ අනුව ඔහු අයිලයේ මූළැදෑනියා වන බව කීහ. ඔහු නිලධාරීයෙකු නොවන බවත් මීට අවුරුදු කීපයකට පෙර අයිලයේ ඇතිවූ දුර්භික්ෂය නිසා නගරයට ගොස් දුම්රිය කම්කරුවෙකුවුනු තෂ්තාන්බෙක්ගේ පුතා බවත් පසුව ආරංචි විය. තෂ්තාන්බෙක්ගේ පුතා දුයිෂෙන් අයිලයට පැමිණියේ පාසලක් පටන් ගැනීමට සහ ළමයින්ට උගන්වන්ට බව දනගන්ට ලැබිණි.

ඒ කාලෙයේදී ''පාසල'', ''උගැන්වීම'' ආදී

වචන අලුත් දේ හැටියට ගණන් ගත් ගම්මු ඒවා තේරුම් බේරුම් කරගැනීමට අපොහොසත් වූහ. එකෙක් එය අසන්ට ලැබුණු ආරංචි මාත්‍රයක් ලෙසත්, තවකෙක් එය ගැණුන්ගේ ඕපාදූප වශයෙනුත් ගණන් ගත්තෝය. ගම්මුන්ගේ රැස්වීමක් නොකැඳවන්ට පාසල ගැන අමතක වන්ට ඉඩ තිබිණි. ''මොකක්ද මේ රැස්වීමේ තේරුම, හැම පුහු දේකටම රස්සාව අත හැරලා යන්ට වෙලා තියනවා'' යැයි අපේ මාමා දෙඩුවේය. අශ්වයා සූදානම් කොට ඌ පිට නැගී ගත් මාමා රැස්වීමට ගියේ ගමේ සැලකිය යුතු පුද්ගලයෙකු ලෙසිනි. ඔහු පිටුපස ගමන්ගත් අසල්වැසි ළමයින් සමග මමද ගියෙමි.

රැස්වීම් තබන්නේ කඳු ගැටය අසල තැනකය. අප එහි දුවගියේ හති දමමිනි. අසරුවන්ගෙන් හා අනිකුත් ගම්මුන් ගෙන් පිරී පැවති රැස්වීම් පිටිය මැද සිටගෙන කතාකරන්නේ සුදුමැලි මුහුණකින් යුත් කළු කබාය හැඳගත් අර ගැටවරයාය. ඔහුගේ කතාව අපට හරිහැටි නෑසුනු බැවින් අපි ඔහුට වඩාත් ළංවීමට වෑයම් කළෙමු. එහෙත් ඉරුණු ලෝගුවක් හැඳසිටි මහල්ලෙක් ඔහුගේ කතාවට බාධා කළේය.

''පුතේ, මේ අහපන්'' යැයි ඔහු ඉක්කා ගසමින් සිය ප්‍රශ්නය ඇසුවේය. ''ඉස්සර කාලෙ ළමයින්ට ඉගැන්නුවේ මුල්ලාවරු. උඹේ තාත්තා ගැන අපි දන්නවා. අපි වගේම එයත් දු-

ජ්පත් ගොවියෙක්. ඉතින් උඹ කොහොමද මුල්ලා කෙනෙක් වුනේ කියලා අපට විස්තර කරපන්?''

''මම මුල්ලෙක් නොවෙයි, ලොකු උන්නැහෙ, මම කොම්සොමොල් (තරුණ කොමියුනිස්ට්) කාරයෙක්'' යැයි ඉක්මණින් දුයිෂෙන් පිළිතුරු දුන්නේය ''මින් පස්සෙ ළමයින්ට උගන්වන්නෙ මුල්ලාවරු නොව, ගුරුවරු. මම යුද්ධ හමුදාවෙ ඉන්න දවස්වල ඉගෙන ගත්තා. ඊට ඉස්සෙල්ලත් තරමක් ඉගෙන ගත්තා. මගේ මුල්ලාකමේ හැටි ඔහොමයි.''

''ඒක අපූරුයි...''

''හරි හපනෙක්'' යැයි පිරිස අතර හුන් සමහරු කෑගැසූහ.

''නුඹලාගේ ළමයින්ට උගන්වන්ට මාව මෙහාට එව්වෙ කොම්සොමොල් සංවිධානයයි. මේ කාරිය පටන් ගන්ට අපට ඕන ගේ කැල්ලක්. තමුන්නාන්සේලාගේ උදව් උපකාර ඇතුව අන්න අතන තියන අස්සගාල ශුද්ධ කරලා ස්කොලෙ පටන් ගන්ටයි මම අදහස් කරන්නෙ. ඒ ගැන මොකද තමුන්නාන්සේලා කියන්නේ?''

අලුතෙන් අයිලයට ආ මේකා අප කොහාට එළවන්ට හදන්නේද? යන්න සිතින් නගන්නාක් මෙන් මිනිස්සු සිනාසෙන්ට වූහ. මෙතෙක් වේලා නිහඬව සිටි ප්‍රශ්න අසන්නෙකුවන සතිම්කුල් නිශ්ශබ්දතාවය බිඳහෙළීය. අශ්වයා

පිට ඉඳගෙන සිටි ඔහු ගම්මුන්ගේ කතාවලට කන්දෙමින් ඉඳ හිට කෙළගසන්ට විය.

''ඒයි ඉළන්දාරියා, පොඩ්ඩක් නැවතියන්. මොකක්ද අපට ඔය ස්කොලෙන් ඇති පරයෝජනේ?'' යැයි ඇස් අඩවන් කරගත් සතිම්කුල් ඇසූවේ ඉලක්කයට වෙඩි තබන්නාක් මෙනි.

''මොකක්ද ප්‍රයෝජනේ?'' දුයිෂෙන් කලබල විය.

''හරියට හරි'' පිරිසෙන් එකෙක් කියනු ඇසිණි.

පිරිස එකවර ඒ මේ අත හැරෙන්ටත් කෑගසන්ටත් පටන් ගත්හ.

''සත වරුස ගණනාවක සිට අපි ගොවිතැන් කරල පීවත් වුනේ. කෙත්මෙනයයි අපට කෑම සොයා දෙන්නේ. අපේ දූ-දරුවො ඒ විධියටම පීවත් වේවි. උන්ට අකුරු උගන්වන්නෙ මොන උලව්වටද. ලොක්කන්ට තමයි අද්දියාපනෙ ඕන. අපි චාම් මිනිස්සු. ඔය නෙයියාඩම් වලින් අපිට වැඩක් නෑ.''

කෑකෝ ගැසීම ක්‍රමයෙන් නතර විය.

''ළමයින් ඉගෙනගන්නවා බැලීමට දෙමව්පියන් ආසා කරන්නේ නැද්ද?'' යි තමා වටකරගෙන සිටියවුන්ගේ මූහුණු දෙස බලමින් තැතිගත් දුයිෂෙන් ප්‍රශ්න කළේය.

''අපි විරුද්ධ නම් නුඹ බලෙන් උගන්වාවිද? ඒ කාලෙ ඉවරයි. අපි දැන් නිදහස් මිනිස්සු. කැමති විධියට පීවත් වෙනවා!''

දුයිෂෙන්ගේ මූණ රතු විය. වෙව්ලන අත්වලින් යුතුව හෙතෙම කබායේ බොත්තම් ගැළවීය. කමිස සාක්කුව තුළින් ලහි ලහියේ කඩදාසි කැල්ලක් ගෙන එය දිගහැර සියලු දෙනාටම පෙනෙන පරිදි හිසට උඩින් එසවීය.

"ළමයින්ගේ ඉගෙනීම ගැන සඳහන් කරන සෝවියට් රජයේ මුද්‍රාව තබා ඇති මේ ලියවිල්ලට තමුසෙලා විරුද්ධයි? කවුද නුඹලාට ඉඩම් දුන්නේ, වතුර දුන්නේ, නිදහස ලබා දුන්නේ? කවුද සෝවියට් ආණ්ඩුවේ නීති රීති වලට විරුද්ධ, කව්ද? උත්තර දීපල්ලා!"

"උත්තර දීපල්ලා" යන වචනය ඔහුගේ කටින් පිටවූයේ සණ්ධාර නාදය මුසුවූ ශක්තියත් ක්‍රෝධයත් එක් කැරමිනි. සරත් සමයේ නිසලතාවය බිඳ හෙළමින් හෙණ පහරක් සේ පැතිර ගිය ඒ හඬ ඈත කඳුවල හැපෙමින් දෝංකාරය ඇතිකළේය. කිසිවකු කතා කළේ නැත. හිස් පාත් කරගත් ගම්මු නිශ්ශබ්ද වූහ.

"අපි දුප්පත් ගොවියෝ. අපට හැමදාම හිරිහැර කළා. නින්දා අපහාස කළා. අපි අඳුරේ ජීවත් වුනා. සෝවියට් ආණ්ඩුව අපට ලියන්ට කියන්ට උගන්වා අපට ආලෝකය ලබා දෙන්ට යනවා. ඒ සඳහා ළමයින්ට අකුරු උගන්වන්ට ඕන..." ඔහු කතා කළේ සිහින් හඬකිනි.

දුයිෂෙන් ගොළු විය. එවිට මුල්ලා කෙනෙකු වූයේ කෙසේදැයි ඇසූ අර වැරහැලි ලෝගුව

හැඳ සිටි ගොවියා ශාන්ත ස්වරයකින් මුමුණුවේය.

''උඹට ඔය තරම් ඕන කමක් තියනවනම්, උගන්වාපන් අපට මොකෝ... අපි නීතිවලට විරුද්ධ නැහැ.''

''එහෙනම් මට කරුණාකරලා උදව් වෙයල්ලා. අර කන්ද උඩ තියන බායිලාගේ* අස්සගාල ශුද්ධ කරලා ගන්ට ඕන. ගඟ හරහා ඒදණ්ඩක් දාන්ට ඕන. ස්කොලෙට දර ඕන...''

''ඒයි හාදයා, උඹ බොහොම කලබලයි, පොඩ්ඩක් නැවතියන්!'' යැයි දුයිෂෙන්ගේ කතාවට බාධා කළ සතිම්කුල් කීය.

දත් අතරින් කෙළ ගැසූ ඔහු ඇස් හකුළුවා ගත්තේ ඉලක්කයට වෙඩි තැබීමට මෙනි.

''ස්කෝලයක් පටන් ගන්ට යනවා කියලා නුඹ මුළු අයිලයටම ඇහෙන්ට බෙරිහන් දෙනවා. නුඹ දිහා බලපන්. උඹට ශීත කබායක් නැහැ. අස්පයෙක් නැහැ. ගොවිතැන් කරන්ට අල්ලක් තරම් වත් කුඹුරක් නැහැ. හරකා බානක් වත් නැහැ! නුඹ කොහොමද ජීවත් වෙන්ට කල්පනා කරන්නේ, ඉලන්දාරියා? පිට අයගෙ අශ්වයො එළවන්ටද... අපට අස්පයො නැහැ. අස්ප ගාල් තියෙන එවුන් කඳුකරේට ගිහිං.''

---

* බායි – පොහොසතා

තදින් පිළිතුරු දීමට ලුයිෂෙන් සූදානම් වූ නමුදු සන්සුන්ව මෙසේ කීය:

"කොහොම හරි ජීවත් වෙන්ට බලනවා. මට පඩි ලැබේවි."

"ඕක ඉස්සල්ලා කීවනම් කතාව දුර දිග යන්නේ නැහැ නොවැ," යැයි කී සතිම්කුල් තමා ගැන සතුටුවෙමින් සෑදලය මත හරි-බරි ගැසී හිඳ ගත්තේ පිටි කොන්ද කෙලින් කරගනිමිනි. ඔහු ජයග්‍රහයෙකුගේ සිරියක් පෑවේය: "දැන් ඔක්කොම පැහැදිලිය. හාදයා, උඹේ වැඩ උඹ තනිවම කරගනින්. ලැබෙන පඩියෙන් ළමයින්ට උගන්වාපන්. ආණ්ඩුවට සල්ලි තියනවා. අපට කරදර කරන්ට එපා. දෙයියන්ට පිං සිද්ද වෙච්චාවයි අපට කට ළඟට එනකල් වැඩ කටයුතු..."

මේ වදන් කියා අවසන් වත්ම සතිම්කුල් තම අසූ හරවාගෙන ගෙදර ගියේය. ඔහු පිටුපස ගමන්ගත් අනිත් අයද ගෙවල් කරා ගියෝය. ලියවිල්ල අතේ ඇතිව ලුයිෂෙන් ගල් ගැසුනාක් මෙන් බලාගෙන සිටියේය. අනේ දුප්පතා යන එන මං නොදන බලා සිටි හැටි...

ලුයිෂෙන් නිසා ම සිතෙහි උපන්නේ කණගාටුවකි. මා අසලින් ගිය මාමා මට කෑගසන තුරු මම ලුයිෂෙන් දෙස බලාගත්වනම සිටියෙමි.

"ඒයි කොන්ඩෙ කඩා ගෙන ඉන්න පිස්සී උඹ මොනවද කට ඇරගෙන මෙතැන කරන්-

නේ. හනික පල ගෙදර!'' ළමයි රංචුවට එක්වීම සඳහා මම හනික දුවන්ට වීමි. ''ඒ ගොල්ල හැම තිස්සෙම රැස්වීම් තියන්ට පුරුදු වෙලා!''

පසුදින අයිලයේ පැටික්කියන් වතුර ගෙනැල්ම පිණිස ගිය විට ගඟ අසලදී ඔවුන්ට දුයිෂෙන් මුණ ගැසිණි. කෙත්මෙනයක්, ගල්කටුවක්, පොරවක් සහ අපූරු බාල්දියක් රැගත් දුයිෂෙන් ගඟ හරහා ගියේය.

එදා සිට හැම උදෑසනකම කඳු ගැටය මුදුනේ පිහිටි පාළු අශ්ව ගාල වෙත අඩි පාර ඔස්සේ යන දුයිෂෙන්ගේ හුදකලා රූපය දක්ක හැකි විය. ඔහු ආපසු අයිලයට ආවේ ඇඳිරිවූ පසුවය. විශාල පිදුරු මිටියක් හෝ කුරායා* මිටියක් කර ගසා ගෙන ඔහු යන සැටි අපි හිඳ හිට දුටුවෙමු. දුරසිට ඔහු දකින කෙනෙක් සෑදලයේ පා වළලු වලට පා තබා නැගී සිට ඇස් හකුළුවා බලමින් පුදුමයෙන් මෙසේ කියයි:

''ඒයි බලපන්, අර දුයිෂෙන් ස්කෝල මහත්තයා නොවෙද, තණකොළ මිටියක් කරතියාගෙන යන්නෙ?''

''ඔව් එයා තමයි.''

''අනේ පව්, දුප්පතා, ස්කෝල ගුරුකමත් ලේසි වැඩක් නෙවි.''

---

* කුරායා--ගිනිනැපීමට ගන්නා වියලි තණකොළ වර්ගයකි.

''නුඹ හිතුවෙ මොකක් කියලද. එයා මිටි කර ගහන්නෙ බායිලා යටතේ වැඩ කරන දාසයෙක් වගෙයි.''

''එයා කතා කරන කොට නම්, මහ ලොක්කෙක් වගෙ.''

''එයා ළඟ ආණ්ඩුවේ මුද්‍රාව එක්ක ලියවිල්ලක් තියෙන නිසා තමයි ඒ විධියට මිනිහා කතා කරන්නෙ. ලියවිල්ලෙ බලය තමයි ඒ''.

කඳුගැට වල තිබූ වියලි ගොම මළවලට පුරවාගත් අපි දවසක් දා පාසල අසලින් ගියෙමු. ගුරුවරයා මොනවා කරන්නේදැයි බැලීමට ආශාවක් අප තුළ ඇතිවූයෙන් පාසලට ගොඩ් වැදුනෙමු. ගොම මැටි ගා සාදන ලද පැරණි මඩුව ඉස්සර බායිවරුන් පාවිච්චි කළේ අශ්වගාලක් ලෙසය. ශීත කාලයේදී සහ අයහපත් කාල ගුණය පැවති දවස්වලදී අශ්ව පැටව් මේ ගාලෙහි ලැග්ගාහ. සෝවියට් පාලනය පිහිටුවීමෙන් පසු බායිවරුන් වෙනත් ප්‍රදේශවලට ගියෙන් අශ්වගාල පාළු විය. කිසිවෙකු මෙහි ආවේ නැත. අශ්වගාල වටා වල් තණකොළ වැවිණි. එහෙත් දැන් මුලින් උදුරා දමූ වල් පැලෑටි ආදිය මිටි වලට බැඳ තිබිණි. ගෙවත්ත පිරිසුදු කර තිබිණි. වැස්සට තෙමී තෙතබරී වී තිබුණු බිත්ති මැටිගා ශුද්ධ කරන ලදී. සදාකාලිකවම එක් සරණේරුවක එල්ලමින්

තිබුණු කබල් දොර ශුද්ධ කොට තිත්ත ගා තිසි ලෙස සවිකර තිබිණි.

කරෙන් සහ හිසින් ගෙනා්ය මළු බිමතැබූ අපි ගිමන් හරින්නට වීමු. ඇඟ පත පුරා මැටි තවරාගත් දුයිෂෙන් දොරහැර ගෙන එළියට ආවේය. අප දුටු ඔහු විස්මයෙන් බලා පසුව සාදරයෙන් පිළිගන්නාක් වැනි සිනාවක් පා, නළලෙන් වැරෙන දහදිය පිස ගනිමින් මෙසේ ඇසීය:

"කෙල්ලනේ නුඹලා කොහේ ඉඳලද

වියලි ගොම පුරවාගත් මළු ළඟ වාඩිවී සිටි අපි ලැජ්ජාවෙන් එබී කම් කර බැලුවෙමු. අප ලජ්ජාව නිසා ගොළු වී සිටින බැව් දුටු දුයිෂෙන් දිරි ගැන්වීමක් ලෙස එක ඇසක් හකුළුවා ගත්තේය.

"මළු නුඹලාට වැඩිය ලොකුයි නෙවැ. මෙහෙ ආව එක බොහොම හොඳයි. නුඹලා ඉගෙනගන්ට එන්ට ඕන මෙහාටයි. නුඹලාගේ ස්-කෝලෙ සම්පූර්ණයෙන්ම වගේ ලැස්තියි. ශීත කාලෙට ගිනි තපින්ට ලිපක් එහෙම හදලා දුම් පිට කිරීමට වහලට උඩින් බටයකුත් හදලා ඉවරයි, පේනව නේද! දැන් ඕන ගිනි තැපීමට දර. කමක් නැහැ ඒ වෙනුවට වල් තණකොළ හැම තැනම තියනව. බිමට පිදුරු ආලා උගැන්වීම පටන් ගන්නවා. කොහොමද ඉගෙන ගන්ට කැමතිද, ස්කොලෙ එනවද?"

නඩේ කෙල්ලන් අතුරෙන් වැඩිමහළු එකියවූ මම පිළිතුරු දීමට ඉදිරිපත් වූනෙමි.

''නැන්දා අවසර දෙනව නම් ස්කෝලෙ එනවා.'' යි මම කියූවෙමි.

''ඇයි අවසර දෙන්නෙ නැත්තෙ, අවසර දේවි. නුඹේ නම කොහොමද?''

''අල්තීනායි'' මම පිළිතුරු දෙමින් හැඳ සිටි ඉරුණු සාය අතරින් පෙනුනු දණහිස එක් අතකින් වසා ගත්තෙමි.

''අල්තීනායි, ලස්සන නමක්'', යැයි කියමින් ඔහු සිනාසුනේ හදවතට උණුසුමක් ගෙනදෙමිනි. ''උඹ කාගෙ කවුද?''

මට අනුකම්පා කරන විට අසතුටුවූ මම නිශ්ශබ්ද වීමි.

''එයා අම්මා අප්පා නැති අනාථ කෙල්ලක්. මාමාලාගේ ගෙදර පීවත් වෙන්නෙ'' යැයි යෙහෙලියෝ කීහ.

''අල්තීනායි,'' කී, දුයිෂෙන් මා දෙස නැවත වරක් බලා උණුසුම් ලෙස සිනාසුනේය. ''උඹ අනික් ළමයින්ව ස්කොලෙට අඬගසාගෙන වරෙන්. මේ ළමයිනුත් ස්කොලෙ එන්ට ඕන. තේරුණාද?''

''හොඳයි මාමේ.''

''මට ස්කොල මහත්තයා යැයි කියන්න. කැමතිද ස්කෝලෙ බලන්න? වරෙල්ලා ලැජ්ජා වෙන්ට එපා.''

"බැහැ, අපිට ගෙදර යන්ට ඕනෑ" යයි ලැජ්ජා ගතියක් පාමින් අපි කීවෙමු.

"හොඳයි, ගෙවල්වලට පලයල්ලා. ඉගෙනගන්ට ආ විට ස්කොලෙ බලපල්ලා. අඳුර වැටෙන්න ඉස්සෙල්ලා තව සැරයක් තණකොළ එකතු කරන්ට ඕන."

ඇකැත්තක් සහ ලනු පටකුත් අතින් ගත් දුයිෂෙන් තණකොළ කැපීමට ගියේය. මළු කර තබාගත් අපි අයිලය දෙසට ගමන් කළෙමු. හිටි හැටියේම මා තුළ අදහසක් උපන්නේය.

"කෙල්ලනේ, නැවතියල්ලා වියලි ගොම ස්කෝලෙට බාර දෙමු. ශීත කාලෙට ගිනි තපින්ට ඇහැකි."

"නුඹ හරි කෙල්ලක් නේ. ගෙදර ගෙනියන්නෙ මොනවද!"

"අපි ගිහිං තවත් ගොම එකතු කර ගනිමු.

"බැහැ, රෑ බෝවෙලා. ගෙදර අය බනීවි."

මා එනතුරු නොසිට ඔවුහු ගෙවල් කරා ගියහ.

එදා එවැනි තීරණයක් ගැනීමට හේතුවූයේ කුමක් නිසාද යන්න අද වන තුරුත් මට තේරුම් ගැනීමට නොහැකිවීය. මගේ යෙහෙලියන් මට අවනත නොවී ගෙවල් කරා ගිය නිසාද නැතිනම් කළ කළ සිටම ඇබ්බැහිවුනු මුරණ්ඩු ගති නිසාදයි කිව නොහැකිය. ග්‍රාම්‍ය මිනිසුන්ගේ පහරවලට නිතර ගොදුරු වූ මගේ හැඟීම්

හා අභිලාෂයන් මැලවී ගොස් තිබිණි. එහෙත මගේ හදවත කාරුණික සිනාවකින් උණුසුම් කළ ඒ මිනිසාට, මා කෙරෙහි විශ්වාසය තබා කරුණාවත් ලෙස කතාකළ ඒ මිනිසාට මගේ කෘතඥතාවය පළකළ යුතුයැයි මට හැඟිණි. මගේ මුළු මහත් ජීවිතයත් ඉරණමත් දුකත් සැපත් යන මේ හැම දෙයක්ම පටන් ගත්තේ ඒ වියලි ගොම පිරි මල්ල නිසා බව මම හොඳ-හැටි සහ ස්ථිරලෙස දනිමි. මා එසේ කියන්නේ මගේ ජීවිතයේ පළමුවැනි වරට, නොබියව, කල්පනා නොකර, අවශ්‍ය යැයි සිතූ දෙයක් හිතට එකඟව කළ බැවිනි. යෙහෙලියන් මා තනිකර දමා ගිය විගසම දුයිෂෙන්ගේ පාසලට දුව ගොස් වියලිගොම සහිත මල්ල සිස් කළෙමි. කඳු අතරවූ පටු බෑවුම් සහ දෙණි අතරින් වේග-යෙන් පැනගොස් මා කඳු ගැටය නැග්ගේ නැවත වරක් වියලි ගොම අහුලා ගැනීමටයි.

මා වේගයෙන් දුවගියේ අරමුණක් නැතිවා සේය. මා තුල අධික ශක්තියක් තිබෙන්නාක් මෙන් හැඟීගිය අතර හදවත ශ්‍රේෂ්ඨතම වීර ක්‍රියාවක් කළාක් මෙන් පිරිණි. මගේ ප්‍රීතියේ රහස හිරු දැනගත්තාක් මෙනි. ලෙහෙසියෙන් හා නිදහස් ලෙස මා දුව පැන ඇවිදින්නේ ඇ-යිද යන්න සහ මා මෙතරම් සන්තෝෂ වන්නේ ඇයිද යන්න හිරු දැනගත්තාක් වැනිය. ඔව්, මා ලෙහෙසියෙන් හා නිදහසේ දුවන්නේ මන්-

දැයි හිරු දැනගත් බව මට විශ්වාසය. මන්ද කුඩා වූවද මා හොඳ දෙයක් කළ බැවිනි.

හිරු කලුගැටයට මුවා වෙමින් සිටියේය. බැසයන හිරු මා දෙස බැලීම සඳහා සම්පූර්ණයෙන් මුවානොවී සිටින බවකි මට දැණුනේ. එහෙතෙම මා යන මග ආලෝකමත් කළේය. සරත් සමයේ වියලී පොළව රතු, රෝස හා දම් පැහැයෙන් බැබලෙන්ට විය. මග දෙපස සිහින් පං ගස්වල අතු ඒ මේ අත වැනුනේ දිලිසෙමිනි. මා හැඳ සිටි අණ්ඩ දමනලද සායේ පිදි පැහැති බොත්තම් හිරු රැස් නිසා දිලිසෙන්ට විය. මා ඉදිරියට දුවගියේ සිත් සතන් ප්‍රීතියෙන් කුල්මත් කරවීමෙනි. මහ පොළව, අහස සහ සුළඟ දෙසට හැරෙමින් මෙසේ කීවෙමි: "මා දෙස බලපල්ලා! මා කොතරම් ආඩම්බරද! මම ඉගෙනගන්ට යනවා, ළමයින් අඬගසාගෙන ඔවුනුත් සමග මම ස්කෝලෙ යනවා!.."

මා ඒ විධියට බොහෝ වේලා දුව පැන ඇවිද්දේ දැයි මට කිව නොහැක්කේ, වියලි ගොම එකතු කළ යුතුයැයි හිටි හැටියේම මතක්වූ නිසාය. කොතරම් ලොකු පුදුමයක්ද: ගිම්හාන සමයේදී අඩියක් පාසාම ගොම දකින්ට ලැබුණේ හැම තැනම හරකුන් සිටි බැවිනි. එහෙත් දැන් මහ පොළව ගොම ගිලගත්තාක් මෙන් අතුරුදහන් වෙලාය. සමහර වේලාවට මා සෙව්වේ නැතුවා වෙන්ට පුළුවන්. සොයමින් ඇත

ගියද එකතු කර ගැනීමට ලැබුණේ වියලි ගොම ටිකක් පමණි. මල්ල පුරා වියලි ගොම එකතු කර ගැනීමට බැරිවෙතියි යන බිය මා තුළ ඇතිවූයෙන්, කුමක් කරම්දෝහෝයි නොදන 'වියි'* පඳුරු අස්සේ මම දුවන්ට වීමි. අමාරුැවෙන් මල්ලෙන් බාගයක් පුරවා ගතිමි. ඉර අවරට ගියෙන් අඳුර ඉක්මණින් පැතිරෙන්ට විය.

මේ තරම් අඳුරු වැටෙන තෙක් තණ පිට්යේ තනිවම රැඳී සිටි දවසක් මට මතක නැත. පාළු, ගොළු කඳුගැටවලට ඉහළින් රාත්‍රි අඳුර පැතිරෙන්නට විය. හොඳටම බියගත් මම මල්ල කරතබාගෙන අයිලය දෙසට දුවන්ට වීමි. කෑගසා අඬන්නට තරම් මා බියවූවද ධෛර්‍ය උපදවා ගතහැකි වූයේ, මෙවැනි අසරණ තත්ත්වයක මා වැටී සිටිනු දුයිෂෙන් ගුරුතුමා දුටුවොත්, ඔහු කුමක් කියති දැයි මගේ යටි සිතෙහි හැඟීමක් හටගත් බැවිනි. ගුරුතුමා පැත්තක සිට මා දෙස බලා ඉන්නාක් වැනි හැඟීමක ඇති කරගත් මම වටපිට නොබලා සිත එක්තැන් කරගතිමි.

මා ගෙදර දුවගියේ හතිදමමින් සහ පෙරෙන අහඩියෙන් යුතුවය. මම අමාරුැවෙන් හුස්ම ගනිමින් ගෙට ඇතුළු වීමි. ගිනි මොළවමින් සිටි

---

* වියි—පං වර්ගයකි.

නැන්දා තර්ජනය කරමින් ඉදිරියට ආවය. නපුරු, රළු ගැහැණියකි මගේ නැන්දා.

"තෝ කොහෙද බොල ගියෙ?" කියමින් ඉදිරියට ආ ඈ මල්ල උදුරාගෙන පැත්තක තැබුවාය. "තෝ එකතු කළේ මෙච්චරද?" ඕ තර්ජනය කළාය.

මගේ යෙහෙළියෝ මේ වන විට නැන්දා-වෙත කේළම් කීමෙහි ලා සමත්වූහ.

"ඇයි කළු බැල්ලියේ! තෝ මොකටද ස්කෝ-ලෙට ගියෙ? ස්කෝලෙදීම තෝ මක බෑ වුණා-නන්!" යැයි බණින්ට වූ නැන්දා, මගේ කණින් ඇද එක පිට එක බැගින් ටොකු ඇන්නාය. "අම්ම අප්පා නැති වල් කෙල්ල! වෘකයා කවදා-වත් බල්ලෙක් වෙන්නේ නැහැ. ළමයි හැම දෙයක්ම ගෙදර ගේනවා. මේකි ගෙදර තියෙන ඉද්වල් පිට ගෙනියනවා. මීට පස්සෙ ස්කෝලෙ අහලකින්වත් ගියොත් තොගෙ අණ්ඩක් කඩ-නවා. තොට යස ස්කෝලයක් දෙන්නම් හිට-පියා..."

මම නිසලව සිට කෑගසා නොහැඬීමට වග-බලා ගත්තෙමි. පසුව ලිප තුළ නගින ගිනි මැලය දෙස බලමින් නිශ්ශබ්දව, සෙමින් කිසි-වකුට නොපෙණෙන පරිදි, මා හැඬුවේ ගෙදර සිටි බළල් පැටියා අත ගාමිනි. මා හඬන හැම වාරයකදී ඉව ඇල්ලීමෙන්, බළල් පැටියා මා වෙත එයි. මා හැඬුවේ නැන්දාගේ තර්ජ-

නවලට බිය වූ නිසා නොවේ. ඒවා මට නුපුරුදු ඒවා නොවීය. නැන්දා මින්පසු කිසිදිනක මා පාසලට යවන්නේ නැති බව ස්ථිර බැවිනි මා එසේ වැළපුණේ...

ඊට දවස් දෙකකට පසු හිමිදිරි පාන්දර බල්ලන් මහ හඩින් බුරනවා ඇසිණි. දුයිෂෙන් ගෙයක් පාසා යමින් පාසලට ළමයින් එකතු කිරීම එයට හේතුව විය. ඒ දවස්වල අයිලය හරහා පාරවල් නොතිබිණි. අපේ අයිලයේ තිබු-ණේ මැටියෙන් සෑදූ අඳුරු පැල්පත් පමණකි. ඒවා ඒ මේ අතර විසිර යනසේ සාදා තිබිණි. තමන්ට රිසි තැනෙක ගම්මු පැල්පත් සෑදූහ. දුයිෂෙන් සහ ඔහු පිටුපසින් ගමන් කළ ළමයි කෑකෝ ගසමින් ගෙයක් පාසා ගියෝය.

අපේ පැල්පත පිහිටියේ එක් කෙළවරකය. නැන්දාත් මාත් පිටි කොටමින් සිටියෙමු. පැල්පත අසල ලී මඩුවේ වළෙක බහා තිබූ තිරිඟු ගොඩ ගැනීමෙහි මාමා යෙදී සිටියේය. තිරිඟු කඩපලට ගෙනයාමට ඔහු සූදානම් විය. වරින් වර මෝල්ගස් දෙකකින් අප පිටි කොටමි-න් සිටියද, කිසිවකුට නොපෙණෙන පරිදි ගුරු-තුමා කොහෙදැයි මම හොර ඇසින් බැලුවෙමි. අපේ පැල්පතට ඔහු නොඑතියි යන බියක් මා තුළ උපනි. නැන්දා මා පාසල් යවන්නේ නැති බව මට සහතිකය. එහෙත් මා කොතැන ජීවත්-වන්නේද යන්න දැනගැනීම සඳහාවත් ඔහු

මෙහි එනවා දකීමට මම ආශා කළෙමි. අපේ ගෙදරට නැවිත් ඔහු ආපසු නොයා යුතුයැයි මම දෙවියන් යදිමි.

"ආයුබෝවන්! දෙවියන්ගේ පිහිටයි! දෙවියෝ පිහිට වෙන්නේ නැතිනම් අපි රංචුව පිටින්ම පිහිට වෙන්නම්, බලන්න අපි කීදෙනෙක්ද කියල!" දුයිෂෙන් අපේ නැන්දාට ආචාර කරමින් විහිළු කරන්නාක් මෙන් කතා කළේ තමා පිටුපස ආ අනාගත ශිෂ්‍යරැළ පෙන්වමිනි.

ඈ මොනවදෝ කියමින් මුමුණුවාය. මාමා තිරිඟු වළෙන් හිස එළියට දමා බැලීමට තරම්වත් වුවමනාවක් නොදක්වුවේය.

දුයිෂෙන් එයින් අධෛර්‍යයට පත් නොවූයේ. ගෙවත්තේ තිබූ ලී කොටයක් මත හිඳගෙන කඩදාසියක් හා පැන්සලක් ගෙන මෙසේ පැවසීය:

"අද අපේ ස්කෝලෙ උගැන්වීම පටන් ගන්ටයි යන්නෙ. ඔහෙලගෙ දුවට වයස කීයද?"

කිසිවක් නොකී නැන්දා කෝපයෙන් මෝල්ගහ වංගෙඩිය තුළට දැම්මාය. ඈ කතාකිරීමට කිසිදු වුවමනාවක් පෙන්නුවේ නැත. එහෙත් මගේ හදවත ගිනි ගත්තාක් මෙනි: දැන් මොනවා වෙයිද? මා දෙස බැලූ දුයිෂෙන් අඩ සිනාවක් පෑවේය. එවිට මගේ හදවත ප්‍රීතියෙන් සැලෙන්ට විය.

"අල්තීනායි, උඹේ වයස කීයද?" යි ඔහු ඇසූ නමුදු මා නොවේ පිළිතුරු දීමට ඉදිරිපත් වුණේ.

"උඹට මොකටද වයස දැනගන්ට ඕන හේතුව. උඹ ඉස්පැටර් කෙණෙක්ද?" යි කැළඹුණු ස්වරයකින් නැන්දා ඇසුවාය. "ඒකිට ස්කෝලෙ යන්ට වෙලාවක් නැහැ. ඇගේ අම්ම අප්පා නැහැ. අම්ම අප්ප ඉන්න ළමයින්ට පවා ස්කෝලෙ යන්ට බැරිකොට ඈට මොන ස්කෝලයක්ද. බලාපන්, උඹ එකතු කරල තියන කොලු- කෙලි රංචුව. උන් එක්ක පලයන් ස්කෝලෙට. මෙතන උඹට වැඩක් නැහැ."

දුයිෂෙන් හුන් තැනින් නැගිට්ටේය.

"මොනවද ඔය කියන්නෙ! පොඩ්ඩකට කල්පනා කරල බලන්ඩ. ඈ අනාථ වුනේ ඇගේ වරදින්ද? අනාථ ළමයින්ට ඉගෙනීම තහනම් කරල නීතියක් පනවල තියනවද?"

"උඹගෙ නීති ගැන හොයන්ඩ මට වෙලාවක් නැහැ. මගේ නීති අනුවයි මම වැඩ කරන්නෙ. උඹ මට අණදෙන්ට හදන්ට එපා!"

"අපි හැමටම බලපාන්නෙ එක නීතියයි. ඔයගොල්ලන්ට ඒ ළමයව එපා වුණාට ඒ ළමයව අපට, සෝවියට් ආණ්ඩුවට ඕන. අපට විරුද්ධ නම් අපි අණ කරනවා!"

"කොහෙ ඉඳල ආපු ලොක්කෙක්ද මේ!" යයි කෝපවූ නැන්දා ඇසුවාය. "ඈ හැසිරිය

යුත්තේ කවුරු කියන විධියටද? ඇට කන්ට බොන්ට දෙන මා කියන දේද යන එන මං නැති පාදඩයෙකුගෙ පුතෙක් කියන දේද ඈ අහන්ට ඕන?!'' යැයි නැන්දා ගුගුලාය.

තිරිඟු බහා තියන වළ තුළට වී තිරිඟු ගොඩගනිමින් සිටි මාමා එළියට නොඑන්ට කුමකින් කුමක් වේදැයි කිය නොහැකිව තිබිණි. ගෙදර මූලිකයා සිටින බව අමතක කර දමා ඇට අයිති නැති වැඩවලට අත ගැසීමට නැන්දා ඉදිරිපත්වීම මාමාට ඉවසුම් නොදෙන කාර්යයකි. එවැනි අවස්ථාවලදී ඔහු ඈට අනුකම්පා රහිත ලෙස තැලුවේය. මෙවරද ඔහු තුළ පැන නැංගේ ඉවසුම් නොදෙන කෝපයකි.

''ඈයි බොල ගෑනියේ'' යැයි කෑගසමින් ඔහු තිරිඟු වළෙන් ගොඩ ආවේය. ''උඹ කවද සිටද ගෙදර ලොක්කා වුනේ. උඹ අණ දෙන්ට පටන් ගත්තේ කවද ඉඳලද? ඕපදූපකීම අඩු කරපන්. වැඩ කිරීම වැඩි කරපන්. ඒයි උඹ තෂ්තන්බෙක්ගේ පුතා, ඔය කෙල්ලව ගනිං ස්කෝලෙට, කැමති නම් උගන්න පං, බැරිනම් පුච්චාගෙන කාපන්. තොපි ඉක්මනට පලයව් යන අතක!'' හේ ගුගුලේය.

''ආ එහෙනම් ඒකී ස්කෝල ගානෙ ඇවිදිව්, ගෙදර වැඩ කවුද කරන්නෙ? ඔක්කොම කරන්ට ඕන මමයි?'' නැන්දා ඇසුවාය.

මාමා සැනෙකින් පිළිතුරු දුන්නේය: ''මං කියන විධියට විතරයි වැඩ!''

හැම නරක දේකම හොඳ ටිකක් තියනවළු. පළමුවැනි වරට මට පාසල් යාමට සිදුවුනේ ඒ විධියටයි.

එදා සිට හැමදාම උදේට දුයිෂෙන් ගෙවල් ගාගෙන් ගොස් අප එකතු කළේය.

පළමුවැනි වරට අප පාසලට පැමිණිදා පිදුරු අසුරනලද බිම වාඩිවෙන්නට සැලැස්වූ ගුරුතුමා සැම ළමයෙකුටම ඇක්සයිස් පොතක්, පැන්සලයක්, සහ ලෑල්ලක් බැගින් දුන්නේය.

''ලෑල්ල දණහිස් මත තබා ගත්තාම ලියන්ට පහසුයැ'' යි දුයිෂෙන් කීවේය.

ඉක්බිතිව බිත්තියේ අලවා තිබූ රුසියන් ජාතිකයෙකුගේ පින්තූරයක් පෙන්වමින් ඔහු මෙසේ පැවසීය:

''ඒ තමයි ලෙනින්.''

ඒ පින්තූරය ජීවිතයේ කිසිදිනෙක අමතක නොවන පරිදි ම සිතෙහි ඇඳිණි. එ වැනි පින්තූරයක් පසුව මට කිසි කලකදී හමුනොවීය. ඒ පින්තූරය ''දුයිෂෙන්ගේ'' යැයි මටම කියාගතිමි. යුද කබායක් හැඳ සිටි ඒ පින්තූරයේ ලෙනින් තරබාරු බවක් දැරීය. ඔහුගේ යටිරැවුල වඩාත් උල්ව පෙනිණි. තුවාල වූ ඔහුගේ අත රෙදි පටියකින් බැඳ තිබිණි. හිසේ පිටුපස කොටස වැසීයනසේ හිස්වැස්මක් ලෙනින් පැ-

ළඳ සිටියේය. දැඩි නිසලතාවයක් දරූ ඔහුගේ ඇස් මහත් ඕනෑකමින් බලන්නාක් මෙන් විය ඔහුගේ මෘදු උණුසුම් බැල්ම දකින මට හැඟී ගියේ, ඔහු අපට මෙසේ කියන්නාක් මෙනි: ''අනේ දරුවනේ, කොතරම් සුන්දර අනාගතයක් නුඹලාට ලැබෙන්නේ දැයි නුඹලා දන්නවානම්!'' ඒ නිශ්චල මොහොතේදී ඔහු මා ගැන සිතන්නාක් මෙන් මට දැනිණි.

දැන්වීම් පෝස්ටර් මුද්‍රණය කරන කොළයක මුද්‍රණයකැර තිබූ ඒ පින්තූරය දුයිෂෙන් ළඟ බොහෝ කාලයක් තිස්සේ තිබුණු බව විමැසිල්ලෙන් බලන විට පෙනීයයි. ඉරිතැලී, කොන් නැමී තිබූ ඒ පින්තූරය හැරුණු විට පාසල් බිත්තියේ අන් කිසිවක් අලවා නොතිබිණි.

''කියවන්ටයි ගණන් කරන්ටයි මම නුඹලාට උගන්වන්නම්. අකුරු සහ ඉලක්කම් ලියන සැටි පෙන්වා දෙන්නම්. මම දන්න සෑම දෙයක්ම නුඹලාට කියා දෙන්නම්...'' යැයි දුයිෂෙන් පැවසීය.

පුදුම සහගත ඉවසිලිමත් බවක් පෙන්වමින් ඇත්ත වශයෙන්ම ඔහු දන්නා සෑම දෙයක්ම අපට උගැන්වූයේය. හැම ළමයෙකු වෙත ඇවිත් පැන්සල අල්ලාගත යුතු ආකාරය කියා දුන්නේය. නොතේරෙන වචන සිත් ඇදගන්නා සුළු ක්‍රමයකින් හෙතෙම විස්තර කළේය.

යම්තම් උගත් ඒ තරුණයා අමාරුවෙන් වච-

නයෙන් වචනය අකුරු ගලපා උච්චාරණය කරමි-න්. එකද පොතක්වත් නැතිව, යටත් පිරිසෙයින් හෝඩියක් පවා නැතිව, ඒ තරම් ශ්‍රේෂ්ඨ කා-රියක් කළේ කෙසේද යන්න ගැන සිතන විට අද වුවද මම පුදුම වෙමි. පිය මුතු පරම්පරා කීපයක්ම අකුරු නූගත් අයගේ දූ පුතුන්ට උගැන්වීම ලෙහෙසි පහසු වැඩක් නොවේ. උගැන්වීමේ මූලධර්මයන් ගැන හෝ ක්‍රමයන් ගැන හෝ දුයිෂෙන් කොහෙත්ම දන සිටියේ නැත. එවැනි විද්‍යාවන් තිබෙන්නේ යැයි ඔහු සැක නොකළ බව මට සහතිකය.

ඔහුට හැකි තරමින් ඔහු අපට උගැන්වීය. දනීමේ ප්‍රමාණය සහ අවශ්‍යයැයි හැඟෙන තරමට අපට ඉගැන්වූ ඔහු තුළ එක්තරා විධියක සහජ දක්ෂතාවයක් තිබිණැයි කිවහැකිය. කොතරම් පිරිසුදු හදවතකින් හා උනන්දුවකින් යුතුව ඔහු තම කාරිය ඉටුකළේද යන්න, ඔහුගේ ප්‍රයත්නයන් අපතේ නොයාමෙන් පෙනෙයි.

තමා කළේ වික්‍රමයක් බව දුයිෂෙන් දනසිටි-යේ නැත. ඔව්, වචනයේ නියම අර්ථයෙන්ම එය වික්‍රමයකි. අපේ අයිලයෙන් පිට නොගිය කිර්ගීස් ළමයින්වූ අපට කඳුමුදුන් වසා සිටින සුදෝසුදු හිම සැමදාම පෙනෙන තරම් විශාලවූ සිදුරුවලින් ගහන මැටි බිත්ති සහිත ඒ පාසල, නොඇසූවිරූ, නොදුටුවිරූ නව ලෝකයක් මවා පෙන්වීය.

ලෙනින් විසූ මොස්කව් නගරය අවුලියෙතා සහ තෂ්කන්ට් නගරවලට වඩා කීප ගුණයකින් විශාල බවත්, තලස්කා තැනිතලාව මෙන් අහස් වාරයක් ලොකු මහා සාගර තිබෙන බවත්, කඳු තරම් විශාල නැව් තිබෙන බවත් අපි දැනගතිමු. වෙළඳ පොලේදී මිලට ගන්නා භූමිතෙල් ලබාගන්නේ පොළව හැරීමෙන් බව ඔහු අපට කීය. අපේ දෙමව්පියවරුන් පොහොසත්වූ පසු අපේ පාසල අලංකාර ජනේල සහිත සුදු පැහැති මන්දිරයකට ගෙනයන බවත් ඉගෙනගන්නා සිසුන් සඳහා මේස පුටු ආදිය එහි තිබෙන බවත් අපි විශ්වාස කළෙමු.

යම්තම් හෝඩියේ අකුරු කියවීමට හා ලිවීමට ඉගෙනගත් අපි ''අම්මා,'' ''තාත්තා'' යන වචන ලිවීමට පෙර ''ලෙනින්'' යන වචනය අකුරු ගලපා ලීවෙමු. අපේ දේශපාලන ශබ්ද කෝෂය ''බායි'' හෙවත් ඉඩම් හිමියා, ''ගොවි දාසයා,'' ''සෝවියට් සභා'' යන වචන වලින් යුක්ත විය, අවුරුද්දක් තුළදී ''විප්ලවය'' අකුරු ගලපා ලියන සැටි උගන්වන බවට දුයිෂෙන් පොරොන්දු විය.

දුයිෂෙන්ගේ කතා වලට සවන් දුන් අපි සිතින් යුද පෙරමුණුවල ප්‍රතිවිප්ලවවාදී සුදු රුසියානුන්ට එදිරිව සටන් කළෙමු. ලෙනින් ගැන කළ විස්තර කොතරම් සිත් ඇදගන්නා සුලු වී දයත්, අප සිතුවේ දුයිෂෙන් ඔහු දැක තිබෙන

සැටියෙකි. ඔහු එදා කී කතාවලින් බොහොමයක් ශ්‍රේෂ්ඨ නායකයාණන් ගැන ජනතාව අතර පැතිර පැවතුනු කටකතා බව දැන් නිගමනය කළ හැකිය. එහෙත් දුයිෂෙන්ගේ ගෝලයන්වූ අපට ඒ කතා දීප්තිමත් හිරු මෙන් ඇත්ත විය.

සැඟවුනු අදහස් වලින් තොරව දවසක් දා අපි මෙසේ ඇසුවෙමු:

''ඉස්කෝලෙ මහත්තයා, ලෙනින්ට අත දී ආචාර කර තිබෙනවාද?''

එවිට ගුරුවරයා හිස වනමින් මෙසේ කීය:

''නෑ ළමයිනේ. මම ලෙනින්ව කවදාවත් දැකලා නැහැ.''

ඔහු හුස්ම ගත්තේ අපහසුවෙනි. අප ඉදිරියේ ඔහු අමාරු තත්ත්වයකට මූණ පෑවාක් මෙනි.

සෑම මාසයකම අවසානයේදී ඔහු ප්‍රාදේශීය නගරයට ගියේත් ආවේත් පයින්ය. ඒ සඳහා ඔහුට දින දෙක තුනක් ගතවිය.

ඔහු නැති දවස්වලදී අපට දැණුනේ කද පාළු ගතියකි. මගේ සහෝදරයෙකු ඈත ගමනක් ගොසින් එනතුරු නොඉවසිල්ලකින් සිටිනවාට වඩා දැඩි වූවමනාවකින් දුයිෂෙන් නැවත එන තුරු මම බලාසිටියෙමි. නැන්දාට නොපෙණෙන පරිදි ගෙදර වැඩපල කරන ගමන් ගෙවත්ත පිටුපස්සට යන මම බොහෝ වේලාවක් ස්ටෙප්ස් තණබිම් දෙස බලාගෙන සිටියෙමි. ගමන්

මල්ලත් කර ගසාගෙන ගුරුතුමා මේ දූන් ඒවි. හදවත උණුසුම් කරවන සිනා මුහුණ මට දකගැනීමට ලැබෙන්නේ කවදාද, දූනීම ගෙනදෙන ඔහුගේ වචන අසන්ට ලැබෙන්නේ කවදාද?

දුයිෂෙන්ගේ ගෝල පිරිස අතරින් වැඩිමලා මාය. අනිත් අයට වඩා මා හොඳින් අකුරු උගත්තේ ඒ නිසා විය යුතුය. එහෙත් හේතුව එයින් සීමා නොවේ. ගුරුවරයා කී සෑම වචනයක්ම, පෙන්වූ සෑම අකුරක්ම, මා පිළිගත්තේ පරිශුද්ධ බවේ සංකේතයක් ලෙසය. දුයිෂෙන් උගැන්වූ දේ තරම් වැදගත් දේ මෙලොව නැතැයි යනු මගේ දැඩි විශ්වාසය විය. ඔහු මට දුන් ඇක්සයිස් පොත මා ප්‍රවේසම් කරගත් බැවින් දැකැත්තෙන් වැලි පොලවේ අකුරු ලියන්ට වීමි. අඟුරු කැටවලින් මැටියෙන් සෑදූ ගෙවැටෙහිද, හිමෙන් වැසී ගත් පොලවේද, දූලි වැලි සහිත පාරවලද අකුරු ලියුවෙමි. දුයිෂෙන් තරම් උගත් නැණවත් මිනිසෙකු මෙ ලොව තවත් නැතැයි මම එදා විශ්වාස කළෙමි.

ශීත කාලය පැමිණියේය.

පළමු හිම වැටෙන්ට පෙර ගල් සහිත නොගැඹුරු ගඟ හරහා පාසල් ගියෙමු. එහෙත් පසුව හිම තරම් සීත ගඟ හරහා යාම දෙපා පිළිස්සී යාමට තරම් වේදනාවක් ගෙන දෙන්නක් විය. මේ වධයට විශේෂයෙන් භාජනය වූයේ කුඩා එවුන්ය. වේදනාව ඉවසාගත නොහී සමහරු

ඇඹූහ. එවිට ඩුයිෂෙන් සිසුදරුවන් එකා බැගින් අතින් ගෙන ගඟ හරහා ගියේය. එකෙකු කර-තබාගෙන තව'කෙකු අතින් ඊගෙන ඩුයිෂෙන් ගඟ හරහා යයි. මේ විධිහට ඔහු සියලුම සිසුන් එගොඩ කරයි.

යටගිය ඒ සියල්ල දැන් මා මතක් කරනවිට ඇත්ත වශයෙන්ම සිදුවූනේ ඒ ආකාරයෙන්-මදැයි සිතීම පවා උගහටය. එහෙත් එදා ග-ම්මුන්ගෙන් සමහර දෙනෙක් අසභ්‍යකම නිසා හෝ නොවැටහීම නිසා හෝ ඩුයිෂෙන් දෙස බලමින් සිනාසුණහ. පොහොසත් එවුන් ශීත කාලය ගත කරන්නේ කඳුවලය. ඔවුන් ආවේ පිටි මෝල වෙත පමණකි. රත් පැහැති ලොම් සහිත සිවල් හමෙන් සාදනලද හිම කබා සහ වටිනා බැටලු හමෙන් නිම කරනු ලැබූ කබා හැඳගත් ඔව්හු, සිසු දරුවන් කරෙන් සහ අතින් ගෙන ගඟ හරහා යන ඩුයිෂෙන් දෙස බලා උපහාසාත්මක ලෙස සිනාසෙති. තරබාරු වල් අශ්වයින් පිට යන එවුන්ගෙන් එකෙක් සිය සගයා අමතා මෙසේ කියයි:

"අරූ බලනව එකෙකුව කරේ තියාගෙන තවකෙකුව අතින් අරගෙන!"

හති දමන අශ්වයාට පහරක් ගසන අනිකා මෙසේ පිළිතුරු දෙයි:

"දෙවැනි ගෑනි හැටියට කසාද බැඳගත යුත්තේ කාව දැයි මම දනසිටියේ නෑ; මං එගේ

මෝඩයෙක් මහ පොළව පලාගෙන යන්ට හි-
තෙනව.''

අශ්වයින්ගේ ලාඩම් වලින් විසිවෙන කුණු සහ මඩ අපේ ඇහපත පුරා විසිර යාමට ඉඩ සලස්වා ඔව්හු වේගයෙන් අසුන් එළවූහ.

ඔවුන් පසු පස එළවාගොස් ඔවුන්ගේ අශ්වයි-න්ගේ කටකලියාවෙන් අල්වා, ඒ මෝඩ මිනිසු-න්ගේ උඩඟු මුහුණු දෙස බලා මට කෑගැසීමට සිත්වූ වාර අපමණය: ''අපේ ගුරුවරයාට නින්දා කරන්ට එපා! නුඹලා මෝඩ අශීලාචාර මිනි-ස්සු!''

දුබල කෙල්ලෙකුගේ වචනවලට සවන් දෙන්නේ කවුද? පීඩා විඳිනු ලැබූ මට සිදුවූයේ කඳුළු වැගිරවීමටය. තමන්ට කළ නින්දා අපහාස කිසි ගණනකට නොගත් දුයිෂෙන් හැසුරුනේ ඒ කිසිවක් නොඇසූ කෙනෙකු ලෙසය. සිදුවූ දෙය අමතක කර දමනු වස් අප සිනා ගන්වන අන්දමේ විහිළු-තහලු කිරීමට ඔහු සමත්විය.

කොතරම් මහන්සි දැරුවද ගඟ හරහා ලී පා-ලමක් සෑදීමට තරම් අවශ්‍ය දෑ සොයාගැනීමට දුයිෂෙන්ට නොහැකිවිය. අවසක් කුඩා ළමයි-න්ට ගඟ හරහා යාමට උදව් කළ දුයිෂෙන් හා මම එහා ඉවුරේ සිටියෙමු. කකුල් නොතෙමෙන සේ යම්තම් ගඟ හරහා යාමට හැකිවන පරිදි ලොකු ගල්කැට ගඟ හරහා විසිකිරීමට අපි ඉටා ගතිමු.

සාධාරණ ලෙස කල්පනා කර බලන්නේනම් සිය දූ දරුවන්ට පාසල් යාම පිණිස යටත් පිරිසෙයින් ගඟ හරහා ඒදණ්ඩක්වත් දැමීමේ වගකීම ගම්මුන් සාමූහිකව භාරගත යුතුය. නූගත්කමෙහි ගිලී සිටි ගම්මු ඒ දවස්වල ඉගෙනීම වැදගැම්මකට නැති දෙයක් ලෙස සැලකූහ. ගම්මුන් දුයිෂෙන් සැලකුවේ වැඩක් නැතිව ළමයි කරගහගෙන ඇවිදින පුද්ගලයෙකු ලෙසය. වුවමනා නම් උගන්වාපන් නැතිනම් ගෙදරවලට යන්ටෙයි කියාපන් යන අදහස අනුව ඔවුහු වැඩකළෝය. නිතර අසූන් පිට යන ගම්මූන් ගඟ හරහා ගමන් කළේද එලෙසමය. එහෙත් ඔවුන් ඒ ගැන කල්පනා කළ යුතුව තිබිණ. අනිත් අයට වඩා පහත්නුවූ සහ මෝඩ නොවූ ඒ තරුණයා කුමක් සඳහා දුක්කරදර අමාරුකම් හා නින්දා අපහාස වලට මුහුණ දෙන්නේද. උපහාස හා බැණුම් නොතකා ඔවුන්ගේ දූ පුතුන්ට අකුරු උගන්වන්නේ මහත් ධෛර්‍යයකින් හා මිනිස් ශක්තිය ඉක්මවා ගිය ඉවසිලිමත් බවකින් යුතුව නොවේද?

ගඟ හරහා ලොකු ගල් කැට දමූ ආ අවට සෑමතැනම හිම වැටී තිබිණ. ගඟේ වතුර හදවත පවා හිරිවැටෙන තරම් තද ශීත ගතියක් ගෙන දුන්නේය. පාවහන් නැතිව නිතර වැඩෙහි යෙදී සිටි දුයිෂෙන් ශීතලට ඔරොත්තු දුන්නේ කෙසේදැයි මට කිව නොහැකිය. නොගැඹුරු දිය

ඇති ගඟේ පතුල මගේ පාදයන් පිළිගත්තේ ඉදිකටු මෙන් උල්වූ ගල්කුඩු වලිනි. දවසක් දා ගඟ හරහා මා යද්දී කකුල් වල කෙන්ඩා පෙරලීමෙන් ඇතිවූ වේදනාව විසින් ගල්ගැසිණ. කෑගැසීමට හෝ කකුල් දිග හැරීමට හෝ බැරි-වූයෙන් ක්‍රමයෙන් මම ඇද වැටීමට පටන් ගතිමි. ගඟ හරහා ගල් කැට දමමින් සිටි ද්‍රුයිෂෙන් හනික මා වෙත ආවේය. වැටෙන්ට නොදී මා අල්ලාගෙන එගොඩට වත්තම් කැර ගෙන ගොස් ඔහුගේ කබාය මත මා වාඩි කර-වා, තද ශීත නිසා නිල් පැහැගත් මගේ දෙපා වේගයෙන් පිරිමැද්දේය. ශීතලවූ මගේ අත් ඔහු සිය කට ළඟට ගෙන හුස්ම හෙලීමෙන් උණුසුම් කළේය.

"අල්තීනායි, නුඹ ඉවුරේ ඉඳන් උණුහුම් වෙය-න්, මම ඉතුරු ගල්කැට ගඟ හරහා දාන්නම්" යැයි ද්‍රුයිෂෙන් කීවේය.

ගඟ හරහා ලොකු ගල් කැට පෙලක් දමා ඉවරවූ පසු සපත්තු පටි ගැට ගසන්ටවූ ඔහු මා දෙස බලා මෙසේ ඇසීය:

"කොහොමද උදව්කාරී උණුහුම් වුණාද? ඔය කබාය පොරවා ගනින්, ඔන්න ඔය විධියට!" ටික වේලාවක් නිශ්ශබ්දව සිටි ඈතෙම නැවත මෙසේ ඇසීය: "අල්තීනායි, නුඹ නොවෙද ස්කෝලෙට වියලි ගොම ගොනාවේ?"

"ඔව්" යැයි මම පිළිතුරු දුනිමි.

ඔහු කට කොනකින් සිනාසුනේය. ''මා ඒබව දැන සිටියා'' යන්නක් ඒ සිනාව කියා පෑවේය.

ඒ මොහොතේදී මගේ කම්මුල් රත්වූවාක් මෙන් දැනිණි. වැදගැම්මකට නැති දෙයක් ගැන වුවද ගුරුතුමා අමතක කර නැති බවයි එයින් පෙනෙන්නේ. මගේ ප්‍රීතිය නිම්හිම් නැතිවිය. හත්වැනි දෙව්ලොවට ගියාක් මෙනි මට දැණුනේ. දුයිෂෙන්ද මා ප්‍රීති වන බව දුටුවේය.

''දයාබර මගෙ පුංචි කෙල්ල'' යැයි මා දෙස බලා ඔහු ළයාන්විත හඬකින් කීය. ''උඹ ඉගෙනගන්ට හරි හපනී... මට පුළුවන් නම් නුඹව ලොකු නගරෙකට යවල උගන්වන්ට. උඹ දක්ෂ කෙනෙක් වේවි!''

දුයිෂෙන් දුරින් පා තබමින් ගං ඉවරට ආවේය.

සුළං පහරට අසුව වේගයෙන් පා වෙන වලාකුළු කඳුවලට මුවාවී යන සැටි බැලීම පිණිස හිස අහස දෙසට හරවා දෑත් මත හිස තබාගෙන වරක් සිටියාක් මෙන්ම දනුදු දුයිෂෙන් මා ඉදිරිපිට සිටී.

ඔහු එදා සිතුවේ මොනවා ගැනද? ඉගෙනීම සඳහා ඔහු මා විශාල නගරයකට සිතින් යැව්වා වෙන්ට පුළුවනි? දුයිෂෙන්ගේ කබාය පොරවාගෙන උණුසුම් වෙමින් සිටි මම ඒ මොහොතේදී මෙසේ සිතුවෙමි: ''ගුරුවරයා මගේ මවගේ කුස උපන් සහෝදරයෙක් වුනානම්!

ඔහුගේ ගෙල බදා ගෙන තදින් ඔහු වැළඳ ගන්ට පුළුවන් නම්! දෙනෙත් තදින් වසාගෙන ළඟව තිබෙන ඉතාම හොඳ වචන ඔහුගේ කණට කොඳුරා කියන්ට ඇත්නම්! දෙවියනේ ඔහු මගේ සහෝදරයෙකු කරන්ට!''

ඔහුගේ මිනිස් ගති නිසාත්, උදාර අදහස් හා අපේ අනාගතය ගැන ඔහු දුටු සිහින නිසාත්, අපි හැම දෙනෙක්ම ඔහුට ආදරය කළෙමු. අපි ළමයින්ව සිටියදී ඒ සත්‍යය අවබෝධ කර ගත්තෙමු. දිනපතාම පාසල් යාම සඳහා බොහෝ දුර පයින් ගමන් කිරීමටත්, හිම වැස්ස, කුණාටු සහ තද ශීතට මුහුණ දෙමින් කඳු නගින්ටත් අපට ධෛර්‍ය්‍ය දුන්නේ කවුද? අප පාසල් ගියේ කාගේවත් බලකිරීමක් නිසා නොව අපේම කැමැත්ත නිසාය. හිමකැට බවට පත්වූ පිණි බිඳු මුහුණේ හා ඇඳුම්වල තැවරෙන අයිස් අල්මාරියක් වැනි ඒ පාසල් මඩුව තුළට අප බලෙන් ගෙනයාමට බැරීය. ගිනි තැපීම සඳහා උඳුන ළඟට ගියේ එකා බැගිනි. අනිත් ළමයින් දුයිෂෙන්ගේ පාඩම්වලට සවන් දුන්නේ සිටි තැන්වලින් පිටතට නොගොසිනි.

එක් ශීත දවසක—මගේ මතකේ හැටියට එය ජනවාරි මස අග හිරියේ විය. යුතුය—දුයිෂෙන් දුරැළු පරිදි ගෙයක් පාසා යමින් සිසුන් එක්රැස් කරගෙන පාසල් ගියේය. එදා ඔහු අප කැටුව ගියේ නිශ්ශබ්දවය. ඔහුගේ

මුහුණ බැරෑරුම් විලාසයක් පෑය. ඇහි බැම රාජාලියෙකුගේ මෙන් එකි'නෙක ගැටී තිබිණි. ඔහුගේ මුහුණ කළු යකඩ වලින් සෑදුවක් ලෙසය මට පෙනීගියේ. අපේ ගුරුවරයා මෙවැනි දුක්මුසු ගතියකින් පසුවනවා අප කිසිදිනක දැක නැත. ඔහු දෙස බැලූ අපි නිශ්ශබ්ද වීමු. කිසියම් ඇබැද්දියක් වී තිබෙන බව අපටද හැඟිණ.

මග හිමවලින් වැසී තිබෙන විට, එය උඩින් පළමුවෙන්ම ගියේ දුයිෂෙන්ය. ඉන්පසු මා සහ අනිකුත් ළමයි ගියෙමු. මේවරද, කඳු පාමුල පෙරදා රෑ වැටුණු හිම ගොඩ ගැසී තිබිණි. දුයිෂෙන් හිම හරහා ගියේය. මිනිහෙකු ගමන් කරන ආකාරය බලන විට ඔහුගේ හැඟීම් සහ සිත ක්‍රියාකරන සැටි කීමට පුළුවන. අපේ ගුරුතුමා යම්කිසි ශෝකයකින් පෙළෙන බව එදා මට දැනිණි. එල්ලා වැටුණු හිසත්, අමාරුවෙන් තැබූ පාදයනුත් ඒ ශෝකය හෙළි කළේය. තද කළු පාට සහ සුදු හිම වලින් වැසීගත් ඒ බියජනක දර්ශනය මෙතෙක් අමතක නොවීය: එකා පිටුපස එකා බැගින් පෙලගැසීයන අපි දුයිෂෙන්ගේ කළු කබායට පිටුපසින් ගමන් කරමු. කන්ද උඩ ඔටුවෙකුගේ මොල්ලියක් මෙන් හිම කැට ගොඩ ගැසී තිබිණි. සීත සුළං පහරින් හිම කැට ඒ මේ අත විසිවී යයි. අඳුරු අහසේ කළු පැහැති වලාකුළක් හුදකලාව පාවෙයි.

අපි පාසලට ඇතුළු වීමු. දුයිෂෙන් ලිප මෙළ-වීමට ඉදිරිපත් නොවීය.

"නැගිටිනු" යැයි හෙටතම අණ කළේය.

අපි නැගිට්ටෙමු.

"තොප්පි ගලවා පල්ලා!"

අප අණ අනුව හිස් වැසුම් ඉවත් කළෙමු. ඌගුද තමා හැඳ සිටි 'බුදිඔනි' තොප්පිය* ගලවා දැමුවේය. මෙසේ කරන්නේ ඇයිදැයි අපි නොදන්නෙමු. හෙම්බිරිස්සාවෙන් පෙලෙමින් සිටි ඔහු කැළඹීමෙන් යුතුව කථාකළේය:

"ලෙනින් මිය ගියා. ලෝකයේ සියලුම රටවල මිනිස්සු දුක් වෙමින් සිටිනවා. නැගිට නිශ්ශබ්දව සිටපල්ලා. ලෙනින්ගේ පින්තූරය ඉදිරිපිට නිශ්ශබ්දව සිටගනිල්ලා. මේ දිනය සිහි තබාගනිල්ලා."

කඳු මුඳුන්වල සිට පෙරලී ගෙන ආ හිමපතනයට යටවී ගියාක්මෙන් අපේ පාසල නිශ්ශබ්ද විය. සිදුරු අස්සෙන් හමන සුළංවල ශබ්දයද 'සුරු' 'සුරු' ගාමින් කුඩා හිම කැට පිදුරු මත වැටෙන සැටිද ඇසේ.

මහා නගර ගොළු විය. පොළව දෙදරුම් කවන කම්හල් නිහඬ විය. හඬනගමින් දුවන

---

* 'බුදිඔනි' තොප්පිය–සිවිල් යුද්ධ කාලයේදී සහ සෝවියට් රජය පිහිට වූ පළමුවැනි අහ අවුරුද්ද තුළදී රතු හමුදා භටයන් පැළඳි හිස්වැස්මකි.

දුම්රිය අතරමග නැවතිණ. මුළු මහත් මිහි තලයම දුක් සයුරේ ගිලිණ. අපේ ජනතාවගේ ඉතා සුළු කොටසක් වන අපි ආශ්වාස ප්‍රශ්වාස නොකරමින් කාටවත් නොපෙණෙන ඒ මඩුව තුළ අපේ ගුරුතුමාත් සමග ලෙනින්ගේ පින්තූරය ඉදිරිපිට සීරුවෙන් සිටගෙන දුක්බරින් පිරුණු ඒ පැයේදී ලෙනින්ගෙන් සමුගත්තෙමු. ඔහුගේ මරණය නිසා දුක්වන ළහම සහෝදර සහෝදරින් හා සගයින් වශයෙනි අප එලෙස දුක්වූයේ. හිස්වැස්මකින් සැරසී, තුවාලවූ අත වෙලාගෙන සිටි අපේ ලෙනින්, බිත්තියේ සිට අපදෙස බලාගත්වනම සිටියේය. පැහැදිලි, පරිශුද්ධ ඔහුගේ බැල්ම අපදෙස බලා මෙසේ කියන්නාක් මෙනි, මට හැඟීගියේ: "නුඹලාගේ අනාගතය කොතරම් සැපවත් දැයි නුඹලා දන්නවානම්, ළමයිනේ!" ඒ මොහොතේදී ඔහු මගේ අනාගතය ගැන කල්පනා කරන බවක් මට හැඟිණි.

දැකින් නෙත් පිස දමූ දුයිෂෙන් මෙසේ කීය:

"මම ප්‍රාදේශීය නගරයට යනවා. එහි ගිහිං පක්ෂයේ සාමාජිකයෙක් වෙනවා. ආපසු එන්නේ දවස් තුනකට පස්සේ..."

මට මුණ පාන්ටවූ ශීත දවස් අතුරින් අතිශයින්ම දැඩි ශීතලක් දැණුනේ ඒ දවස් තුන තුළදීය. අපේ ලොවින් තුරන්වූ ඒ මහා පුරුෂයාගේ

අඩුව පුරවනු වස් සොබාදහමේ දැවැන්ත බලවේගයන් මහත්වූ පරිශ්‍රමයක් දරන්නාසේය. කෝපයෙන් බුර බුරා පැන නැගුනු මහා කුණාටුව හඬ නැගුවේය. කුඩා හිම කැට කුණාටුවට අසුව ඒ මේ අත විසිර ගියේය. ඇටකටු හිරිවැටෙන තරම් තද ශීතලක් පැන නැගිණි... කුණාටුව මෙල්ල නොවීය: බුර බුරා නගිමින් මහ පොළව මත හැප්පුණු කුණාටුව හඬා වැළපුනේය...

කෙමෙන් අපේ අයිලය නිහඬ විය, කඳු අවට නිසලබවද පැතිර ගියේය. අහසේ පාවුණු කළු පැහැති වලාකුළු කඳු අවට අඳුරු කළේය. තුෂාරය නිසා ගෙවල්වලින් පිට නොවූ ගම්මු උඳුන් අසලට වී ගිනි තැපූහ. දුම් කවුළු වලින් නගින දුම් තුෂාරයට හා කුණාටුවට හසුව දුනු ගැසී අතුරුදහන්වෙයි. ඒ මදිවට අසල කැලෑවල වෘකයෝ හූ හඬ දෙමින් මොර ගැසූහ. දවල් කාලයේදී පාරවලදී මුණ ගැසුණු ප්‍රචණ්ඩ වෘකයෝ රෑ වූ විට ගොදුරු සොයමින් පැල්පත් ළඟටම ආහ. අරුණෝදය වනතෙක්ම ගොදුරු සොයමින් උහු අයිලයේ ගොඩේ ඇවිද්දාහ.

අපේ ගුරුවරයා ගැන මා තුළ බියක් උපණි. හිම කබායක් නැතිව ඔහු කොහොමද මහ රෑ සීතලේ ගමන් කරන්නේ. දුයිෂෙන් අයිලයට හැරී ආ යුතු දවසේදී, ඉවකින් මෙන් මා තුළ අසීරු ගතියක් ඇති විය. හදවත අසුබ ලකුණක්

කොළුරා කියන්නාක් මෙනි. නිතරම ගෙදරින් පිටත දුවගිය මා ඉමක් නැති ස්ටෙප්ස් තැනි තලාව දෙස බලන්නට වීමි. ගුරුවරයා දන් ඒවි නේද? එහෙත් ඔහුගේ ප්‍රාණය හෝ ආ ත්මය හෝ අකින්ට නොලැබිණි.

"අපේ ගුරුතුමා කොහිද? පමාවෙන්ට එපා වඩින්නට ඉක්මණින් ආපහු එන්ට. අපි ඔබ එනතුරු බලා ඉන්නවා ඇහුණද, ගුරුතුමා! අපි ඔබ එනතුරු බලා ඉන්නෙමු!"

මගේ නිහඬ විලාපයට ස්ටෙප්ස් තැනි තලාව පිළිතුරු නොදුන්නෙන්, මම හඬන්නට වීමි.

මගේ යාම්-ඊම් නැන්දාගේ හිතට ඇල්ලුවේ නැත.

"දොරපලුවලට අද උඹ නිවාඩුවක් දෙනවද නැද්ද? තැනක හිඳගෙන බැටළු ලොම්වලින් නූල් අඹරපන්. ළමයි ශීතල වෙලා. මීට පස්සෙ දොර හැරියොත් බලපිය තොට කරන දේ!" අබරැ'ගිල්ල උලුක්කරමින් තර්ජනය කළ ඇ ගෙදරින් පිටත යාමට මට ඉඩ නොතැබුවාය.

සවස් වුණද ගුරුවරයා අයිලයට ආ බවක් දැනගැනීමට නොහැකිවූයෙන් නොසන්සුන් ගතියක් දැනිණි. දුයිෂෙන් දැනටමත් අයිලයට ඇවිත්, පොරොන්දු දවසේදී හරියට වෙලාවට ඔහු අයිලයට ඒම සිරිතක් යැයි තමාටම කියා ගනිමින් හිත සනසාගැනීමට උත්සාහ කළෙමි. ඔහු හිටිහැටියේ අසනීප වෙලා. ඒ නිසා හෙ-

ඉන් එනවා ඇති. ඒ මදිවට හිම කුණාටුව පටන් අරගෙන, ස්ටෙප්ස් තැනි තලාවල අන්ධකාරය නිසා වල්මත් වීමට ඉඩ තිබෙනවා, යන හැඟීම සැණෙකින් ම සිතට වදී. භාරදුන් වැඩේ කිරීම අසීරුය. මගේ අත් මා කියන දේ නොඅසන්නාක් මෙනි. අඹරන කෙඳි හිටිහැටියේ කැඩේ, එවිට නැන්දා ලෝබ නැතිව බැණ වදී.

"අද තිට මක්වෙලාද? තිගේ අත් දරකෝටු වගේ?" යැයි කියමින් බැණ වදින නැන්දා මට ටොකු ඇන්නාය. අවසානයේදී ඇට ඉවසාගත නොහැකිවූයෙන් මොර දෙන්ට පටන් ගත්තාය. "තෝව මාරයා වත් ගෙනියන්නේ නැති හැටි! මේ මල්ල සයිකාල් මැහැල්ලිට ලිහිං දීපිය."

උඩ පැන නටන්ට තරම් ප්‍රීතියකි මා සිත තුළ හටගත්තේ. දුයිෂෙන් ඔවුන්ගේ ගෙදර වාසය කරයි. සයිකාල් සහ කරතන්බායි මගේ මවුගේ දුර නෑයෝ වෙති. ඉස්සර වරින් වර මම ඔවුන් හමුවීමට ගියෙමි. සමහර දවස්වල ඔවුන්ගේ ගෙදර රෑ ගත කළෙමි. නැන්දාට එය මතක් වුනාද. නැතිනම් ඇට දෙවියෝ අණ කළාදැයි කීමට නොපිළිවන. ඈ මෙසේ කීවාය:

"සාගත කාලෙට දෙන බොල්වී වගෙ තෝ මට එපා වෙලයි තියෙන්නෙ. මැහැලිය ඉඩ

දෙනව නම් රෑ උන්දැලගෙ ගෙදර නැවතියන්. මගෙ ඇස්වලට නොපෙනී පළ යන්ට..."

සැණෙකින් මම ගෙවත්තට පැනගතිමි. කෝපයට පත් රකුසකු මෙන් සුළං පහර ප්‍රචණ්ඩ ලෙස නැගී සිටී. මොහොතක් නිසලව සිට නැවතත් හමන සුළං පහර ඉඳිකටු මෙන් සීත් තුඩු සහිත කුඩා හිම කැට මුහුණ දෙසට එවයි. මල්ල කිහිලි ගසාගත් මම, අලුත වැටුණ හිම මත තබා ඇති අශ්ව ලාඩම් නිසා පැහැදිලිව පෙනෙන අඩි පාර ඔස්සේ අයිලයේ එහා කෙළවර දක්වා දුවගියෙමි. මා කල්පනා කළේ එකම දෙයක් ගැන පමණි: "ගුරුවරයා අයිලයට ඇවිල්ලද? නැද්ද?"

දුවගිය නමුදු ඔහු සිටියේ නැත. දොරකඩ අසල සිටගෙන මා හතිදමන සැටි දුටු සයිකාල් ආච්චි අම්මා බිය ගත්තාය.

"උඹට මක් වෙලාද? මොකද හතිදමාගන දුවගෙන ආවේ. විපත්තියක් වෙලාද?"

"නැහැ නිකම්. මල්ල ගෙනාවා. ආච්චිලා ගෙදර අද රෑ නවතින්න පුළුවන්ද?"

"නැවතිය, මගේ කෙල්ලෙ. අනේ බං උඹට නාකි අපව අමතක වුණා නේද. මොකො උඹ පහුගිය සරත් කාලෙ ඉඳල මෙහෙ ආවෙ නැත්තෙ. ලිප ළඟට ගිහිං උණුහුම් වෙයං."

"ඒයි මහගෙ, ඔය මස් ටික හදල අරගෙන දුවට කන්ට දීපං. දුයිෂෙන් මෙලහකටත් මහ

එනවා ඇති'' යැයි කී කර්තන්බායි කිවුළුව අසල වාඩිවී පරණ හිම සපත්තුවලට අණ්ඩ අමුවේය. ''දුයිෂෙන් මෙලහකට ගෙදර එන්ට ඕන, ඔව් දැන් ඉක්මණින් ඒවි. අඳුරුවෙන්ට ඉස්සෙල්ලා ඒවි. අපේ අස්ස මාල්ලට ගෙදර එන්ට ඉව තියෙනව ''

අඳුරු රැය ක්‍රමයෙන් ගෙට ඇතුළු විය. නිතරම මුරකාවල් කරමින් සිටි මගේ හදවත, බල්ලන් බුරන හඬ නිසා ගැහෙන්ට පටන් ගත්තේය. එහෙත් දුයිෂෙන් තවම ගෙදර ආවේ නැත. සයිකාල් කයිකතන්දර කීමෙන් කාලය කා දැමීමට ඉදිරිපත් වීම සැනසුමක් ගෙනදිණි.

දුයිෂෙන් එන තුරු මැදියම් රෑ වන තෙක් අපි බලා සිටියෙමු. අවසානයේදී විඩාවට පත් කර්තන්බායි මෙසේ කීය:

''මහගෙ නිදිමතයි, පැදුරු එලාපන්. එයා අද එන එකක් නැහැ. දැන් ඉතින් රෑ බෝ වුනා. ලොක්කන්ට වැඩ ඇති. මිනිහා ඒ නිසා නවතින්ට ඇති. නැතිනම් මෙලහකටත් ගෙදර ඇවිල්ලා.''

මහල්ලා නිදාගැනීමට සූදානම් විය.

ලිප අසල මුල්ලක පැදුරක් එළා මට නිදාගැනීමට කීහ. එහෙත් මට නින්ද ගියේ නැත. මහල්ලා කහිමින් නිතරම මුණු මුණු ගෑවේය. තොල් මතුරමින් දෙවියන් යැදීය. ඉන්පසු සෙමින් දොඩවන්ට විය:

''මගේ අස්ස මාල්ලට මොනව වුණාද දන් නේ නැහැ. පිදුරු ගන්නවත් මේ දවසවල පුළුවන් කමක් නැහැ සල්ලි දීලා හරි කොල්ල ටිකක් හොයාගන්න බැහැ.''

කරතන්බායි ගොරවන්නට විය. එහෙත් සුළං හැමීම තොරතෝංචියක් නැතිව කෙරිණ. ගෙයි වහළ ගැලවීයන තරම් වේගයෙනි සුළං හැමුවේ. ගොරහැඩි අත්වලින් වීදුරු පිසදමන්නාක් වැනි හඬක් ඇති විය.

මහල්ලාගේ සැනසිලි බස් වලින් මම සැහීමට පත් නොවීමි. දූන් දූන් ගුරුවරයා එතියි මා සිත කීවේය. ඔහු එමින් සිටි මග මම සිතින් මවාගත්තෙමි. හිමෙන් පිරි කාන්තාරය මගේ මනැසට හසුවිය. මා බොහෝවේලා නිදාගත්තේදැයි කිව නොහැකිය. එහෙත් යම්කිසි හේතුවක් නිසා තිගැස්සී නැගී සිටියෙමි.. අම්හිරි හූ හඬ ඇත සිට අවුත් සුළං සමග මිශ්‍රවී නැගී සිටියාක් මෙනි. වෘකයෙක්! එකෙක්ද, නැහැ කීපදෙනෙක්. කෑ ගසමින්, හූ හඬදෙමින් උහු කීපදෙනෙක් හැම අතින්ම දිව ආහ. උන්ගේ හඬ එකට වෙළී අහසට නැගුනාක් මෙන් දැනිණි වරෙක ඒ හඬ ඈත සිට ඇසෙන්නාක් මෙන් දූනේ. තවත් වරෙක වෘකයන් ළඟ සිට හඬ නගන බව හැඟෙයි. නැවතත් ඒ හඬ අයිලයේ කෙළවර සිට පැතිර යන්නාක් මෙනි.

''හිම කුණාටුවකට සැරසෙනවා වගේ'' යැයි

මැහැල්ල කොඳුළාය.

නිහඬව සිටි මහල්ලා ඕනෑ කමින් සවන් දී සිට නැගී සිටියේය.

"නැහැ, නැහැ, ඒක කුණාටුවක් නෙවි! කාවදෝ එළවාගෙන යනවා වගෙ. ඇහෙනවද, දෙවියනේ දුයිෂෙන්වද දන්නේ නැහැ. මොකද දන්නේ නැහැ මිනිහා මෝඩයි. මහගෙ ඉක්මණින් ලාම්පුව පත්තු කරපන්," යැයි කී කරතන්බායි අඳුරේම හිම කබාය ඇඳ ගත්තේය. "හනිකට ලාම්පුව පත්තු කරපන්! දෙයියන්ගෙ නාමෙට ඉක්මන් කරපං!"

බියෙන් වෙවුලමින් අපි නැගිට සිටියෙමු. සයිකාල් ලාම්පුව සොයා එය දල්වීමට පෙර සතර අතින් ළංවූ වෘකයින්ගේ බියකරු හඬ එකවර නැවතිණ.

"යක්කු රැල ළංවුනා!" කී කරතන්බායි පොල්ලකුත් අතේ ඇතිව දොර හැරීමට ළංවූ අතර බල්ලෝ බුරමින් කඩා පනින්ට වූහ. ජනේලය අසල වැටී තිබුණු නැවුං හිම පාගමින් ගමන්ගත් පුද්ගලයෙක් දොරට තට්ටු කරන්ටවිය.

ගෙතුළට වැදුණු දඩි ශීත සුළං පාරක් නිසා කුඩා හිමකැට අප සිටි කාමරට වැදී විසිර ගියේය. සුළං පාර මෙල්ලවී නැවතුණු පසු අපි දුයිෂෙන් දුටුවෙමු. මැලවීගිය ඔහු හති දමමින් ගෙතුළට වැද, ඒ මේ අත වැනෙමින් විත් බිත්තියට හේත්තු විය.

''තුවක්කුවක්!'' යැයි හෙතෙම හතිදමමින් ඉල්ලා සිටියේය.

ඔහු කී දෙය තේරුම් ගැනීමට අපි අපොහොසත් වීමු. මගේ ඇස් නොපෙනී යන්නාක් මෙන් දැනේ. මහල්ලන්ගේ කන්නලව්ව පමණක් මට ඇසෙයි.

''කළු එළුවත්, සුදු එළුවත් දෙයියන්ට බාරයි! ශුද්ධවූ බව්බෙදීන් තුමාණෙනි ඔබවහන්සේගේ පිහිටයි. ඒ උඹද?''

''තුවක්කුවක් දීපල්ලා තුවක්කුවක්!'' දුයිෂෙන් කීය.

''තුවක්කු අප ළඟ නෑ, උඹ කොහෙද යන්නෙ?''

මහලු ජෝඩුව දුයිෂෙන්ගේ උරහිස්වල එල්ලුනෝය.

''පොල්ලක් දීපල්ලා!''

එහෙත් මහල්ලෝ දිගටම කන්නලව් කළහ.

''උඹ කොහෙවත් යන්නෙ නෑ, අපි පීවත්ව ඉන්නතුරු යනවානම් අපව මෙතැනම මරා දමාපල්ලා!''

ඇඟපත දුර්වලව ගොස් අකපය සොලවා ගැනීමට බැරි තරම් දුර්වල ගතියක් දැණුනෙන් මම නිහඬව පැදුර මත දිගා වුණිමි.

''හරි ගියේ නෑ. ගේ ළඟට එනකල් පැන්නුවා.'' යැයි කී දුයිෂෙන් අත තිබූ කෙවිට මුල්ලකට විසි කළේය. ''අස්පයා මඟදී හෙම්බත් උණා.

වෘකයෝ අප පස්සේ පන්නාගෙන ආවා. අයිලයේ මායිමටම ආපු අස්පයා මුලින් කපාපු ගහක් වගේ එකපාරටම ඇද වැටුනා. වෘකයෝ උගේ ඇඟට කඩා පැන්නා.''

''අස්පයා දෙයියන්ට බාරයි. උඹ පණපිටින් ආපු එක තමයි ප්‍රධාන වැඬේ. අස්පයා වැටුනේ නැත්නම් උන් තුඹවත් කා දමාවි. අපේ ආරස්සක බව්බෙදීන් දෙවියන්ට පිං දෙන්න ඕන. ඇලුම් ගලවලා ලිප ළඟට වෙයං මම උඹේ සපත්තු ගලවන්නම්'' යැයි කියමින් කරතන්බායි පාත් විය. ''මහගෙ, උඹ තියෙන දෙයක් රත් කරපන්.''

ලිප ළඟ රැස්වූ ඉක්බිතිව කරතන්බායි සැනසුම් සුසුමක් ලෑවේය.

''වෙන්ඩ තියන දේ වලක්වන්න බෑ. මොකද උඹ මේ තරම් රෑ වුනේ?''

''ප්‍රාදේශීය කොමිටියේ රැස්වීම දිග්ගැස්සුනා, කරකේ*. මම පක්ෂෙට බැඳුණා.''

''ඒක හොඳයි. ඇයි උඹ එළිවෙන කං ඉඳල පාන්දර නාවේ? උඹට මහ රෑ එන්න කියලා කවුරුවත් එහෙම බල කළාද.''

''අද එන බවට මම ළමයින්ට පොරොන්දු වුනා. උදේ ඉඳලා ස්කෝලෙ වැඩ පටන්ගන්ට.''

''අනේ මෝඩ ගෑනියෙ!'' යැයි තරමක් කෝප-

* කරකේ – කරතන්බායිගේ සුරතල් නමකි.

5*

යෙන් හිස වනන්නට වූ කරතන්බායි මෙසේ කීය. "මෙහෙ බලාපන්, උඹට තේරෙනවද එයා ළමයින්ට දුන් පොරොන්දුව කඩකරන්ට ලෑස්ති නෑ. උඹේ පොරොන්දුව ඉටුකරන්ට ගිහිං මැරුණානම්? උඹ කියන දේ හොඳට කල්පනා කරල බලපන්?"

"මගේ යුතුකම, මගේ රස්සාව, කරකේ. වෙන දෙයක් ගැන කතා කරපන්. හැමදාම මම පයින්ම ගමන් කරන්නෙ. මේ පාර මම නුඹගේ අස්පයා ඉල්ලාගෙන ගිහිං වෘකයන්ට පූජා කළා..."

"ඒ ගැන කතා කරලා වැඩක් නැහැ. විනාශවූ දේ විනාශවුණාමයි. අස්පයා නුඹ වෙනුවෙන් ජීවිතය පූජා කළා!" අමනාපයට පත් කරතන්-බායි කීය. "සත වරුසයක් අස්පයෙක් නැතුව ජීවත්වුණා නම් දැන් මොකද බැරි. සෝවියට් ආණ්ඩුව තියනවනම් තවත් අශ්වයෙක් ගන්ට පුළුවන් වේවි..."

"ගම රාල කියන්නෙ ඇත්ත." කඳුලු පිරි ඇසින්. යූතුව සයිකාල් කීවාය. "තවත් අශ්වයෙක් ගන්ට පුළුවන්... පුතේ, කාපන්, නිවෙන්ට ඉස්සෙල්ලා..."

ඔවුහු නිහඬවූහ. විනාඩි කීපයක් වියලි ගොම පිළිස්සීමෙන් ලබා ගත් ගිනිමැලයෙන් උණුසුම් වූ ඉක්බිතිව කරතන්බායි කල්පනා කාරී ලෙස මෙසේ පැවසීය:

''දුයිෂෙන්, උඹ දිහා බලන කොට මට පේන්නෙ උඹ මෝඩයෙක් හැටියට නෙවි, සිහි නුවණ ඇති මොලේ තියෙන ඉලන්දාරි-යෙකු හැටියටයි. මොන ඉලව්වකටද උඹ ඔය ස්කෝලයක් බදාගෙන හය හතර තේරෙන්නෙ නැති කිරි සප්පයන් වෙනුවෙන් වැඩ කරන්නෙ? වෙනින් රස්සාවක් හොයාගන්නට, බැරිද? එ-ඬර රස්සාවක් හොයාගනිං, බඩ කට පුරා කාබී උණුහුම් වෙන්ට පුළුවනි...''

''මට තේරෙනවා, කරකේ. උඹ කියන විදියට ඔය හය හතර නොතේරෙන කිරිසප්පයින්ට ස්කෝලයක් එපානම්, උන්ට උගන්වන්ට වුව-මනා නැතිනම්, සෝවියට් පාලනය වැඩි දුර යන එකක් නෑ උඹ කැමතියි සෝවියට් ආණ්-ඩුව තියනවට. ඒ හින්දා තමයි මට ස්කෝලෙ බරක් නැත්තෙ. මට පුළුවන් නම් ළමයින්ට වැඩිය හොඳින් උගන්වන්ට. ඊට වැඩිය දෙයක් මම බලාපොරොත්තු වෙන්නේ නෑ. ලෙනින් ඒ ගැන මෙහෙම කීවා...''

''ඔව්, ඒක ඇත්ත,'' කරතන්බායි දුයිෂෙන්-ගේ කතාවට බාධා කරමින් කීය. මොහොතක් නිහඬව සිට ඔහු අනතුරුව මෙසේ පැවසීය: ''උඹ තවම වැලපෙනවා. ඇඬූ කඳුලුවලින් ලෙ-නින්ට පණ දෙන්ට බෑ. පණදෙන්ට පුළුවන් බලයක් මේ ලෝකෙ තියනවනම්! උඹ හිතන්-නේ අනිත් උදවිය ලෙනින්ගෙ මරණෙ ගැන

අඩන්නෙ දුක්වෙන්නෙ නැතැයි කියලද?.. උඹ
මගෙ ඉල ඇට දිහා බලපන්. මගෙ හදවත
දුක්බරින් වැලපෙනවා. මම දන්නෙ නැහැ
උඹගෙ දේශපාලනයට හරියාද කියල. ලෙනින්
පිට ආගමකට අයිති වුනත්, මම එයාගෙ නාමයට
දිනපතාම පස් පාරක් දෙවියන්ට පිං දෙනවා
සමහර වෙලාවට මෙහෙම කල්පනා කරනවා
උඹලා අපි කොපමණ දුක් වෙලා වැලපුණත්
ප්‍රයෝජනයක් නැහැ. නාකියෙක් වගේ හිතන
මම, ලෙනින් ජනතාව සමග නැවතිලා ඉන්න
බවයි අදහස් කරන්නෙ, ලෙනින් අපේ පුතුන්
ගෙත් මුණුපුරන්ගෙත් ලේ තුළ ජීවත්වෙනවා
දුයිෂෙන්.''

''උඹේ කතාව බොහොම වටිනව, කරකේ
උඹට බොහොම ස්තුතියි. උඹ හිතන විදිය
හරියට හරි. ලෙනින් අප අතරින් වෙන්වී ගියත්
අපි ඔහුගෙ ඉගැන්වීම් ක්‍රියාවට පෙරලනවා...''

ඔවුන්ගේ කතාබහ ඇසූ මම ඇත සිට පැමිණි
යාක් මෙන් ප්‍රබෝධයක් ලැබීමි. මුල් කොටස
සිහිනයක් තුළින් මැවුනාක් මෙන් දැනිණි. තුවාල
නොලබා, යහතින් දුයිෂෙන් පැමිණ සිටීම විශ්
වාස කිරීමට එදිරිව මුලදී මා සිත කැරලි ගැසීය
පසුව දුකින් හා බියෙන් නිදහස්වූ මගෙ හදවත
තුළට ඒ පුවත වසන්තය මෙන් කඩා වැදිණ
ඒ උණුසුම් හැඟීම් නිසා මම අඩා වැලපෙමින්
කඳුළු වැගුරුවෙමි. මා එදා සන්තෝෂවූ තරම්

අන්කිසිවෙක් කිසිම දවසක සන්තෝෂ නොවුවා විය හැකියි. ඒ මොහොතේදී මා ඉදිරියේ කිසිවක් නොතිබුනාක් මෙනි. අයිලයේ පැල්පත්, හිම කැටි රැගෙන වේගයෙන් නැග එන හිම කුණාටුව, හූ හඬ නගන වෘක රැළ, ගමේ සීමාවේ වෘකයන්ට අසූචි වඩ විදින කරතන්බායිගේ එකම අශ්වයා ආදී කිසිවක් මා ඉදිරියේ නොතිබිණි. හදවතින් හා බුද්ධියෙන්ද, ශරීරයේ හැම ඉඳුරන් ගෙන්ද මා ලැබූ ආනන්ද ජනක ප්‍රීතිය ඉමක්නැති, මිනිය නොහැකි ආලෝකයක් මෙන් විය. දෙපාසිට හිස දක්වා පොරවාගත් මම පිටතට නොඇසෙන සේ කට තදින් වසාගත්තෙමි. එහෙත් දුයිෂෙන් මෙසේ ඇසීය:

"ලිපට එහා කවුද ඉකිගසන්නේ?"

"ඒ අල්තිනායි. ඊයේ බයවුනු ගමන් තවම අඬනවා." යැයි සයිකාල් කීවාය.

"අල්තිනායි? ඈ කොහෙ ඉඳලද ආවේ?" හුන් තැනින් නැගී සිටි දුයිෂෙන් මගේ උරහිසින් අල්ලා, "මොකොද අල්තිනායි උඹ අඬන්නේ? මොකද වුනේ?" යැයි ඇසීය.

බිත්තිය දෙසට හැරුණු මම පෙරටත් වඩා වැඩියෙන් හඬනගා ඇඬුවෙමි.

"ඇයි දරුවා නුඹ ඔයතරම් බයවුනේ? උඹ ලොකු ළමයෙක් නොවැ... මගේ දිහා බලපන්."

දුයිෂෙන්ගේ ගෙල බදාගත් මම, කඳුලෙන් පිරී මගේ මුහුණ ඔහුගේ උරහිස මත තබාගෙන

ඉකි බිඳිමින් අඬන්ට වීමි. හැඬීම නවත්වා ගැනීමට මට බැරි විය. මම නිම්හිම් නැති ප්‍රීතියෙන් වෙවුලන්ට වීමි.

"මේ කෙල්ලගෙ හදවත කකියන්ට පටන් අරගෙනද දන්නෙ නැහැ" යි කී කරතන්බායි කලබල වී නැගී සිටියේය. "ඇයි බොල ගැනියෙ ඉක්මණින් මතුරපන්..."

ඔවුහු හැමදෙනාම කලබල වූහ. සයිකාල් මතුරන්ට පටන් ගත්තී වරෙක ඇල් වතුර හා තවත් වරෙක උණු වතුර මගේ මූණට ඉසිමින් මා සමග එක්ව හඬන්නට වූවාය.

මගේ "හදවත කකියන්ට පටන් ගත්තේ" විස්තර කිරීමට බැරි තරම්වූ ප්‍රීතිය නිසා බව ඔවුහු නොදත්හ.

මා සන්සුන්වී නින්දට වැටෙන තුරු මා අසල හිඳගත් දුයිෂෙන් ඔහුගේ ශීතල අතින් මගේ නළල පිරිමැද්දේය.

ශීත සමය කඳුකරයෙන් පිට විය. නිල්වන් අහස වසන්තයට සැරසිණ. තැණිතලා වසා සිටි හිම කැටි දියවෙන්ට පටන්ගති. උණුසුම් සුළං කඳුකරය දක්වා පැතිර ගියේය. වසන්තයේ නැවුම් පුසුඹින් අවට ප්‍රබෝධමත් විය. කිරි දොවන විට නැගෙන හුමාලය මෙන් වසන්තය පැතිර ගියේය. කඳු මුදුන්වල හිම දියවීමට පටන් ගත්තේය. හිම නිසා කැටිගැසී තිබුනු ගංගා නදී ජලය කෙමෙන් දියවෙමින් ගලාබසි-

න්නට විය. පසුව මිටි තැන් සොයා ගිය ජලකඳ මහත් වෙමින් හඬ නගා ගලාබැස්සේය.

මගේ යෞවන සමයේ පළමුවැනි වසන්තය එය වියහැකිය. කොයි හැටි වුවද මේ වසන්තය පෙර ඒවාට වඩා සුන්දර බවක් ගෙනදුන්නේය. අපේ පාසල පිහිටි කඳු ගැටය උඩ සිට බලනවිට වසන්තය වැළඳගත් ලෝකය අතිශයින්ම අලංකාර බවක් කියා පෑවේය. ඈත් විදහාගත් වසන්තය කඳු කරයේ සිට පහළ බැස රිදී පැහැයෙන් දිලිසෙන ඉමක් කොනක් නැති ස්ටෙප්ස් බිම්වලට දුවගියේ හිරු එලිය මුසු මීදුම් පටලයක් සහිතවය. හත් ගව්වක් දුර කොහේදෝ විලක හිම දියවීයන්ට පටන්ගත්තේය. හත් ගව්වක් දුර කොහේදෝ තැනක අශ්වයෝ හේසාරවය කළහ. හත්ගව්වක් දුර අහසේ වටුවෝ සුදු පැහැති වලාකුළු සිය පියාපත්වලින් ගෙන පියාඹා ගියෝය. පියාඹායන වටුවෝ විඩාපත් ගීතමය හඬකින් මිනිස් හදවතට ආයාචනා කළෝය...

වසන්තය පැමිණීමත් සමගම අපි වඩාත් ප්‍රීතියෙන් විසූවෙමු. නොයෙකුත් විධියේ ළමා කෙළි සෙල්ලම් සොයාගත් අපි තේරුම් රහිතව කොක් හඬ ළමින් සිනාසුනෙමු, පාසලේ වැඩ අවසාන වීමෙන් පසු ගෙවල් කරා දුවගියේ කෑ කෝ ගසමිනි. මගේ හැසිරීම නිසා රොස්වූ නැන්දා, මට බැණවැදීමට අමතක නොකළාය:

''මොකද බොල උඹ නටන්නේ. මීට කලකට ඉස්සෙල්ලයි උඹට කසාද බඳින්ට තිබුනෙ උඹේ වයසෙ හොඳ ගෑනු ළමයි දීග ගිහි ගෙදරට වස්තුව ගේනව... උඹ ස්කෝලයක් බඳාගෙන නෙයියාඩම් නටනව... හිටපිය උඹට යස පාඩමක් උගන්වන්නම්...''

නැන්දාගේ ඇණුම්-බැණුම් මම එතරම් හිතට නොගත්තෙමි. හැමදාම බැණවැදීම අමුත්තක් නොවේ. මා දීගෙ නොගොස් ගෙදර සිටින්නේය යන චෝදනාව සාධාරණ නොවේ. වසන්ත සමයේදී මා උසගිය බව ඇත්තය.

''උඹ තවම පිස්සියෙක් වගෙ කොන්ඩෙ කඩා දමාගෙන ඉන්නෙ. ඒ මදිවට රතු පාට හිසකෙස්!'' යැයි වරක් දුයිෂෙන් සිනාසෙමින් කීය.

ඔහුගේ කතාව නිසා මම අමනාප නොවීමි. හිස අවුල් කරගෙන හිටියද මගේ හිසකෙස් රතු පාට නොවේ. මා තරුණියක්වී මනාලියක් වූ ආට මෙහෙම ඉන්ට බලාපොරොත්තු වෙන්නෙ නැහැ. මා එදාට කොතරම් ලස්සන මනාලියක්දැයි නැන්දාට බලාගත හැකිවේවි. මගේ ඇස් පුංචි තරු මෙන් දිලිසෙන බවත් දයාබර මූණක් තිබෙන බවත් දුයිෂෙන් පැවසීය.

දවසක් පාසල්වාරය අවසන්වී ගෙදර ගියවිට, අපේ මිදුලේ කාගෙදෝ අශ්වයින් දෙදෙනෙකු බැඳ තිබෙන බව දුටුවෙමි. උන්ගේ කුර දෙස බැලූ මට තේරුම් ගියේ උන් කලුකරයේ සිට

මෙහි ආ බවකි. සමහර අවස්ථාවලදී අසූ පිටින් යන්නාහු කඩ මණ්ඩියට හෝ පිටි මෝලට හෝ යන ගමන් අපේ අයිලයටද එති.

ගෙට ඇතුළුවීමට පෙර සිටම නැන්දාගේ අපූරු සිනාව මට ඇසුනේය. "අනේ, බැනෝ, මට දීපු මුදල් නිසා උඹ දුප්පත් වෙන්නෙ නෑ. උඹේ අතට යස කිරිල්ලියෙක් ලැබුණට පස්සේ නුඹ මාව මතක් කරල පිං දේවි. හී, හී, හී..." නැන්දාගේ උපහාසය අනුමත කරමින් සිනාසෙන හඬ ගෙතුලින් ඇසුණද, මා ගෙට ඇතුළුවත්ම එහි සිටි හැම දෙනෙක්ම නිශ්ශබ්ද වූහ. එලන ලද පලස් මත වාඩිවී සිටි රත් පැහැති මූසල මුහුණක් ඇති මිනිහා ගල් රූපයක් මෙනි මා දුටුවේ. යටැසින් මා දෙස බැලූ ඔහු සෙමින් කැරුවේය. හිවල් සමින් කරනලද ඔහුගේ හිස්වැස්ම ඩහදියෙන් පිරී නළල දක්වා වැසී තිබිණි.

"රත්තරං දුවේ, උඹ ආවද!" යි නැන්දා මඳසිනා පාමින් සාදරයෙන් මා පිළිගත්තාය.

පලස මත වාඩිවී සිටි මාමා, මා නොහඳුණන මිනිසකු සමග කඩදාසි සෙල්ලම් කළේය. ඔවුහු වොඩ්කා බී එළු මස් කැවෝය. වෙරිමත් වී සිටි ඔවුහු අපූරු තාලයකට හිස් වනමින් කඩදාසි සෙල්ලම් කළහ.

අළු පැහැති අපේ බළලා පලස් මත තිබූ ආහාර ලහට කිට්ටු වනවාත් සමගම අර මූසල

මිනිහා, බළලාගේ හිස් කටුවට වැරෙන් පහරක් ගැසීය. වේදනාව ඉවසා ගත නොහී කෙඳිරි ගෑ බළලා ගේමුල්ලට බඩ ගැවේය. බළලා වේදනාවෙන් පෙළිණි. ගෙදරින් පිටවීමට මට මහත් ඕනෑකමක් තිබුනද, එය කෙසේ කළ යුතුදැයි නොවැටහිණ. නැන්දා මගේ ආධාරයට ඉදිරිපත් වූවාය.

"දුවේ අන්න කුස්සියේ කෑම තියනවා. නිවෙන්ට ඉස්සෙල්ලා කාපන්."

මම ගෙදරින් පිටවී කුස්සිය දෙසට ගියෙමි. නැන්දාගේ හැසිරීම නිසා මා තුළ කුතුහලයක් ඇති වූයෙන්, මා ප්‍රවේසම් විය යුතුයැයි මට හැඟිණි.

පැය දෙකකට පසු අමුත්තෝ අසුන් පිට නැගී කඳුකරයට ගියහ. සැනෙකින් නැන්දා පරණ පුරුදු විධියටම බැණ වදින්ට පටන් ගත්තාය. " එහෙනම් උන්දෑගේ ආදරය මහ රැවටීමක්" විය යුතු යැයි මම වටහා ගතිමි.

ඊට පසු සයිකාල් මැහැල්ල දවසක් අපේ ගෙදරට ආවාය. මා ගෙම්දුලේ හිටියද ඈ කියන දේ මට ඇසිණි.

"අනේ දෙවියනේ! උඹ ඔය කෙල්ලව මරා දමන්නයි හදන්නෙ."

නැන්දා සහ සයිකාල් අතර මහ විවාදයක් ඇති විය. දෙදෙනාම තම තමන්ගේ අදහස කියා පෑම සඳහා මහත් හඬින් කෑගැසූහ. ඉ-

ක්බිතිව සයිකාල් මැහැල්ල ගෙයින් පිටවූයේ තරහෙන් පිපිරෙමිනි. මා දුටු ඈ වාඩත් කෝපවූ නමුදු ඇගේ බැල්ම අනුකම්පා සහගත බවක් කියා පෑවේය. මගේ හිත දෙදරුම් කෑවාක් මෙන් විය. ඇයි, ඈ මා දෙස ඒ විධියට බැලුවේ? මා කළ වරද කුමක්ද?

ද්‍රුයිෂෙන්ගේ මුහුණ මලානික බවක් දරූ අතර ඔහු කරදරයකට මැදිවී තිබෙන බවත්, එය පිටතට නොපෙන්වීම සඳහා ඔහු දැඩි පරිශ්‍රමයක් දරන බවත්, පසුදා පාසල් ගිය විට පෙනෙන්නට තිබිණි. ඔහු මා දෙස නොබලන සැටිද මම දුටුවෙමි. පාසල අවසන් වීමෙන් පසු අපි රොත්ත පිටින් පිටතට යාමට සූදානම්වූ විට, ඔහු මට අඬ ගැසීය:

"අල්තිනායි, නැවතියන්." ගුරුවරයා මා ළඟ-ට ආවේය. මා දෙස මහත් ඕනෑකමින් බලා උරහිසට අත තබා මෙසේ කීය: "උඹ ගෙදර යන්න එපා. අල්තිනායි, උඹට තේරුණද?"

බියගත් මම ගල්ගැසුනෙමි. නැන්දා කරන්ට යන දේ මට වැටහුණේ මේ දැන්ය.

"මම උඹ වෙනුවට වග කියන්නම්," යැයි ද්‍රුයිෂෙන් කීය. "දැනට උඹ අපේ ගෙදර නැවති-යන්. මට නොපෙනෙන තරම් ඈත යන්න එපා."

ගල්ගැසී සිටි මා දෙස නැවත වරක් මහත් ඕනෑකමින් බැලු ද්‍රුයිෂෙන් ඇඟිලි තුඩුවලින්

මගේ නිකට අල්ලා ගනිමින් මෙසේ පැවසීය:

"උඹ බය වෙන්ට එපා, අල්තිනායි!" ඔහු සිනාසුනේය. "මා ඉන්න තුරු උඹ කාටවත් බය වෙන්න එපා. ඉස්සර වගේම ස්කෝලෙ වරෙන්, ඉගෙන ගනින්. වෙනිං දේවල් ගැන කල්පනා කරන්ට එපා... මම දන්නවා උඹ හරි බියගුල්ලී... ඒ ගැන කියන්න හිටියෙ මීට කලින්." හාස්‍ය උපදවන කිසිවක් මතක් වුනු නිසාදෝ ඔහු සිනාසුනේය. "මතකද එදා හිටි හැටියේම කරකෝ අතුරුදහන් වුනා. ආපහු ආවේ කා එක්කද දන්නවද? ගුරුකම් කරන ජයිනාකවා මැහැල්ල එක්ක. "මොකටද?" කියල ඇහුවම කියනවා "ඔය තෙල් ටිකක් මතුරලා ගාන එක හොඳයි නොවැ. අල්තිනායිගේ හෘද වස්තුව යක්ෂ දිස්ටියකට බය වෙලා තිබුණු තැනින් වෙනින් තැනකට ගිහිල්ලා," කියල කරකෝ කීවා. "එතකොට මම කිව්වා ඔය ගෑණිව එලවලා දාන්ටයි කියලා. එහෙම නැත්නම් වෙන්නෙ ඉතුරු වෙලා ඉන්න එළුවන් ටිකදෙනාවත් දන් දෙන්නයි. අපි පොහොසත් උදවිය නොවෙයි. අස්පයකුව තෑගි දෙන්ට වත්කමක් නැතුවට වෘකයන්ට ඌව දන් දුන්නා. මේ කතාව වෙන වෙලාවේදී උඹ නිදාගෙනයි සිටියෙ. ඒ විධියට මම ජයිනාකාවා ආපසු යැව්වා. මේ සිද්ධියෙන් පස්සෙ කරකෝ සුමානයක් යන තුරු මා සමග කතා කළේ නෑ.

නාකි මාව උඹ නින්දාවට පත්කළා කියල කරකේ මට බැණ වැදුනා. ඒ වුණාට නාකි ජෝඩුව බොහොම කරුණාවන්ත උදවිය. දැන් ඉතින් අපි යමු ගෙදර, අල්තීනායි...''

ගුරුවරයාගේ හිත නොරිදෙන පරිදි හැසිරීමට මා කොතරම් වෙර දැරුවද, ඒ බියජනක හැඟීම් යටපත් කරගැනීමට මම අපොහොසත් වීමි. කවර මොහොතක වුවද නැන්දා විත් බලහත්කාරයෙන් මා ඇදගෙන යාමේ තර්ජනය එල්ලවී තිබිණි. ඔවුන්ට කැමති දෙයක් මට කිරීමට බලයක් ඔවුන් සතුව පවතී. එය වැලැක්වීමට අයිලයේ කාටවත් නොහැකිය. ඒ බියජනක මොහොත බලාපොරොත්තු වූ මම පසුදා එළි වනතුරු නොනිදා සිටියෙමි.

මගේ මානසික තත්ත්වය ගැන දුයිෂෙන් දැනසිටියේය. මා තුළ හටගත් දොම්නස දුරුකරන අදහසින්දෝ ඔහු කුඩා පැලැටි දෙකක් පාසලට ගෙනාවේය. දවසේ පාඩම අවසන් වූ පසු මා අතින් අල්ලාගත් ඔහු මෙසේ පැවසීය:

''අල්තීනායි, දැන් උඹයි, මමයි එක වැඩක් කරමු,'' යි ඔහු මඳ සිනා පෑවේය, ''අපි මේ පැලැටි දෙක හිටවමු. මේ පැලැටි දෙක වැඩී ගොස් ලොකු ගස්වී, ශක්තිමත් වෙන්නා වගේම නුඹත් හැදිලා, වැඩිලා, හොඳ කෙනෙකු වේවි. නුඹේ උපන් වෙලාවේ හැටියට නුඹට එහෙම හොඳ කලදසාවක් ·ාන බව මට හොඳටම

විශ්වාසයි. නුඹ තවම ලපටියි, හරියට මේ පොප්ලර් පැලැටි වගේ. අල්තීනායි අපි දැන් මේ පැලැටි හිටවමු, හොඳේ! නුඹට ඉතා හොඳින් ඉගෙන ගන්ට වාසනාව ලැබේවායි කියා පතාගෙන පැලැටි හිටවමු...''

පැලැටි උසින් මට සමාන විය. සිටවා නිමවූ විගසම වාගේ කඳුකරයේ සිට හැමූ සුළං නිසා ඒ පොප්ලර් පැලැටිවල කොළ සෙලවෙන්ට පටන්ගත්තේ, හරියට ඒවා තුළට ජීවමය හුස්ම ඇතුළුකළාක් මෙනි. අඩි කීපයක් පස්සට ගිය දුයිෂෙන් සිනාසෙමින් මෙසේ පැවසීය:

''බලපන් හරි ලස්සනයි! අන්න අර උල්පතේ ඉඳල මෙතනට පොඩි වතුර පාරක් කපමු. පස්සෙ බලාගත හැකි කොයිතරම් ලස්සන පොප්ලර් ගස්ද කියල. මේ කඳුගැටය උඩ අපේ පොප්ලර් ගස්දෙක සහෝදරයන් දෙදෙනෙකු වගේ වැඩේවි. මිනිස්සු හැමදාම ඒ ගස් දෙස බලාවි. හොඳ උදවිය ඒ ගස් දෙස බලා ප්‍රීති වේවි. ඒ කාලෙ වෙනකොට, අල්තීනායි, ජීවිතය වෙනස් වේවි. ජීවිතය වඩාත් හොඳ අතට හැරිලා උසස් වෙලා ඉදිරියටම ගමන් කරාවි...''

දුයිෂෙන්ගේ දයාබරත්වය නිසා මා සිත තුළ කොතරම් ප්‍රීතියක් ඇති වීද යත්, අද වුවද ඒ හැඟීම් ප්‍රකාශ කිරීම සඳහා සුදුසු වචන සොයා ගැනීම අපහසුය. එහෙත් එදා මම නිවිහැනේ ඔහු දෙස බලාගත්වනම සිටියෙමි, ඔහුගේ මුහු-

නේ අලංකාර වර්ණයන් තිබෙන බව පළමුවරට එදා දුටුවෙමි. ඔහුගේ ඇස්වල මුදු කරුණාබර ගතියත් වැඩෙහි දක්ෂ ශක්තිමත් අත් සහ හදවත උණු කිරීමෙහි සමත් දයාන්විත සිනා රැල්ලත් මින් පෙර කිසි දිනෙක නොදුටු පරිදි එදා මම දුටුවෙමි. එතෙක් නොදුටු නව ලෝකයකට මා ගෙනගිය අලුත් හැඟීම්වලින් මසිත පිරී ගියේය. මගේ යටිසිත ද්‍රයිෂෙන් වෙත ගොස් මෙසේ කියා සිටීමට බලකරන්නාක් මෙන් දුනිණි: ''ගුරුතුමාණෙනි, ඔබ විනීත ගති ඇති උත්තමයෙකි... ඔබේ ගෙල බදා සිපගැනීමට මා කැමතියි!'' එහෙත් ඒ හැඟීම් වචන වලින් ප්‍රකාශකිරීමට මා තුළ ධෛර්‍යයක් නැත. සමහ-ර විට එසේ කිව යුතුව තිබුණේයැයි මට හැඟේ...

එදා අප කඳුගැටය මත සිටියේ තම තමාගේ බලාපොරොත්තු සහිත සිහිනයන් මවා ගනිමිනි. අහස පැහැදිලිව තිබිණ. අවට කඳුකරය සුන්දර වසන්තය සිහිකරවමින් මධුර බවක් ඇති කළේ-ය. බැලූ බැලූ අතින් කොළ දළු ලියලා පීදීගෙන එන ගස් කොළං නිසා අවට පෙදෙස් වඩාත් දැකුම්කලු බවක් කියා පෑවේය. මාවෙත ඉදිරි-පත් වී තිබෙන තර්ජනය මුළුමනින්ම වාගේ අමතක විය. හෙට මොනවාවේද යන්න ගැන මා තුළ හැඟීමක් නොතිබිණ. දෙවැනි දවසේ-දීත් නැන්දා මා සොයා නාවේ ඇයිදැයි වටහා ගැනීමට මම අපොහොසත් වීමි. සමහරවිට

ඔවුන් මා අමතක කර දමුවා වෙන්ට පුළුවනි. නැති නම් මට නිවීහැනේ ඉන්ට අවසර දීමට ඔවුහු ඉටා ගත්තෝද? එහෙත් ද්‍රුයිෂෙන් ඒ ගැන කල්පනා කළේය.

"අල්තීනායි, නුඹ බය වෙන්ට එපා. අපි විසඳුමක් සොයාගනිමු" යි අයිලයට එන ගමන් ද්‍රුයිෂෙන් කීවේය. "අනිද්දාට මම ප්‍රාදේශීය කාරියාලට ගිහිං නුඹ ගැන කියන්නම්. සමහර විට වැඩිදුර ඉගෙනගැනීම සඳහා නුඹව නගරයට යවන්ට අවසර ලබාගන්ට පුළුවන් වේවි. නුඹ එහි යන්ට කැමතිද?"

"ස්කෝලෙ මහත්තයා කියන හැටියට වැඩ කරන්ට මම සූදානම්."

නගරය යනු මොකක්ද යන්න ගැන මා තුළ කිසිම අදහසක් හෝ හැඟීමක් තිබුනේ නැති වුවද, ද්‍රුයිෂෙන්ගේ කීම නිසාම, මම නගර ජීවිතය ගැන සුභද බලාපොරොත්තු ඇතිකර ගත්තෙමි. නොහඳුණන, නොදන්න පලාතක් වන නගරය නිසා මා තුළ සෑහෙන බියක් වරෙක උපණි. එහෙත් තවත් වරෙක නගරයට යාමට සිතින් ලකලෑස්ති වුනෙමි. කෙටියෙන් කියකොත් නගරය පිළිබඳ හැඟීම මා සිතින් බැහැර නොවීය.

පසුදා පාසල් ගිය මම නගරය ගැන සිතමින්, කා ළඟ නවතින්නේද ආදිය ගැන කල්පනා කළෙමි. යම්කිසිවෙක් මට නවාතැන් සහ ආ-

හාර වේලක් දෙන්නේ නම්, මම ඔහුගේ ගෙදර-දොර වැඩ පල කරන්නෙමි; දර පලන්නෙමි, වතුර අදින්නෙමි, රෙදි සෝදන්නෙමි, කියන ඕනෑම වැඩක් කරදෙන්නෙමි. මෙසේ සිතුවිලි සාගරයක ගිලී සිටි මම පාසලට ළඟාවූ අශ්වයන්ගේ කුර ශබ්දය අසා තිගැස්සී සුසුම්ලෑවෙමි. අශ්වයෝ කොතරම් වේගයකින් පාසල දෙසට දුව ආවෝදයත්, දූන් දූන් උන් අපේ පාසල් මඩුව පොඩි පට්ටම් කර දමනු ඇතැයි මට සිතිණි. බියගත් අපි ගැහෙන්නට වීමු.

"කලබල නොවී පාඩම් කරපල්ලා" යැයි දුයිෂෙන් සැනෙකින් පැවසීය.

දොර පළු විවෘතවී මගේ නැන්දා ඇතුළු වූවාය. කෝපවූ ඈ උපාහාසත්මක ලෙස යටිතොල විකෘති කොටැ මඳ සිනා පැවාය. ඉදිරියට ගිය දුයිෂෙන්, "ආවේ මොන කාරණාවකට ද?" යි ඇසීය.

"මම ආ කාරණාව අහන්ට උඹට අයිතියක් නෑ. මගේ කෙල්ලව දීගෙ දෙන්ට යනවා. ඒයි තෝ ගෙයක් නැති කෙල්ල! මෙහෙ වර" කියමින් මා වෙතට නැන්දා කඩා පැන්නාය. දුයිෂෙන් එවිට පාර හරස් කළේය.

"මෙතැන ඉන්නෙ පාසල් ළමයි. දීග දෙන්ට ගෑනු මෙහෙ නැහැ." කලබල නොවී ස්ථිර ස්වරයකින් දුයිෂෙන් පැවසීය.

"ඒවා බලාගනිමු. ඒයි බොලන් මෙහෙ ඇවිත් ඔය බැල්ලව අල්ලා බැඳපියව්!"

එදා මා දුටු අර මූසල රතු මූහුණා වෙතට අත දිගුකැර නැන්දා අණ දුන්නාය. ඔහු පිටුපස තවත් අසරුවන් දෙදෙනෙකි. උන් අත විශාල තෝමර දෙකක් තිබිණ.

ගුරුතුමා සිටි තැනින් සෙලවුනේ නැත.

''ඇයි බොල බැල්ලිගෙ පුතෝ, තෝ අනුන්ගෙ කෙල්ලන්ව, තියාගෙන ඉන්නව නෙවද? පල යන්ට!''

රතු මූනා වලසෙකු මෙන් දුයිෂෙන් වෙත කඩා පැන්නේය.

''තමුසෙට මෙහි ඇතුල්වීමට අවසර නැහැ. මේක ස්කෝලයක්'' යැයි දොර පළුව අල්ලා ගනිමින් දුයිෂෙන් කෑ ගැසීය.

''මම කිව්වානේද, මේකා ඔය බැල්ලිව තියාගෙන ඉන්නවයි කියල. පිනට ගෑනු අරගෙන!'' යැයි නැන්දා කෝපයෙන් කෑගැසුවාය.

''තොගෙ ස්කෝලෙ යකාට ගියාදෙන්'' කී රතු මුහුණා අත තිබූ කසය උළුක්කරගෙන ඉදිරියට ආවේය.

ඔහුට වඩා කඩිසර වූ දුයිෂෙන් සැනෙකින් පයක් ඔසවා ඉදිරියට එමින් සිටි රතු මූහුණාගේ යටි බඩට පහරක් ගැසීය. ''මගෙ අම්මෝ'' යැයි මොරගාමින් රතු මුහුණා ඇද වැටුනේය. එවිට තෝමරයන් අතින් ගෙන සිටි සහචරයෝ දෙදෙනා වේගයෙන් ඉදිරියට පැන දුයිෂෙන්ට පහර පිට පහර දුන්හ. පාසල් ළමයි මා වටා

සිටගත්හ. තෝමරයන් අතින් ගත්තවුන් දෙදෙනාගේ පහරවලින් කැඩීගිය දොර සරනේරුවලින් වෙන්විය. මා පොරකන්නවුන් අතරට යාම සඳහා ඉදිරියට ගියද, පාසල් ළමයි මා වටකර ගෙන සිටියාහ.

"ගුරුතුමාට ගහන්ට එපා, ගුරුතුමාව අතහැරපල්ලා, මාව අරගෙන පලයල්ලා'' යි මම කෑගසා කීවෙමි.

දුයිෂෙන් හැරී බැලුවේය. ලේ වලින් නෑවී සිටි ඔහු දෙස බැලීම පවා බියජනකය. දොර පළුවක් අරගෙන ඒ මේ අත වැනූ දුයිෂෙන් අප දෙසට හැරී ගොළු හඬින් මෙසේ කීය.

"ළමයිනි දුවපල්ලා, අයිලයට දුවපල්ලා! අල්තිනායි, දුවපන්!''

ඔහුගේ අතක් කඩා දමන ලදී. දුයිෂෙන් තුවාල ලැබුයෙන් අඩියක් පස්සට තබමින් පහර දුන්නේය. තුවාල ලැබූ ඔහුගේ අත පපුවට තද කරගෙන ඔහු පහර කෑවේය. ආරක්ෂා රහිතව සිටි දුයිෂෙන්ට ඔවුන් පහර දුන්නේ වියරු වැටුනු මී හරකුන් මෙනි.

"ගහපියව්, කොටපියව්, ඇනපියව්, ඔලුව පලාපියව්, පණයනතෙක් ඇනපියව්!''

රතු මූණාත් සමග නැන්දා මා වෙත ආවේ යක්ෂාවේශයෙනි. මගේ ගෙල වටා මගේම දිගැති කෙස් වරලෙන් බැඳ ඔවුහු මා මිදුලට ගෙනගියෝය. මුළු ශක්තියම යොදා මම ආපසු

හැරුණෙමි. ලේ පෙරෙමින් සිටි දුයිෂෙන් සහ කෑගසමින් සිටි පාසල් ළමයින් මගේ දෙනෙතට හසුවිය. දුයිෂෙන්ගේ ලේ වලින් පාසල් බිත්තිය රත් පැහැ ගෙන තිබිණ.

"ගුරුතුමා!"

මට ආධාර දීමට තරම් තත්ත්වයක නොවේ දුයිෂෙන් සිටියේ. තෝමර කාරයින්ගේ පහරවලින් බේරීම සඳහා හිස ඒ මේ අත වනමින් නොවැටී සිටි දුයිෂෙන් බී වෙරිමත්වූ එකෙකු මෙන් ඒ මේ අත වාරු විය. එහෙත් ඔහුගේ හිසට පහර පිට පහර වැදිණ. මා බිම හෙලා අත් පිටිතලහා කොට බැඳ දමන ලදී. ඒ වේලාවේ පහර ලැබූ දුයිෂෙන් බිම වැතිර සිටියේය.

"ගුරුතුමා!"

මගේ කට තුළට රෙදි කඩක් ඔබා මා සෑදලය හරහා තබනලදී.

අසු පිට නැඟුනු රතු මූණා අත්වලින් හා පපුවෙන් මා හිර කළේය. දුයිෂෙන්ට පහරදුන් තෝමර කාරයෝ දෙදෙනාද අසුන් පිට නැගී ගත්හ. නැන්දා මා අසලින් ගමන් කරමින් මට ටොකු ඇන්නාය.

"ඔය ටිකට නේද බොල තෝ නෙයියාඩම් නැටුවේ. ඔන්න තොට දෙන සත්කාරය. තොගේ ස්කෝල ගුරා ඉවරයි. උඹ පණ අදිනව..."

එහෙත් එය අවධානය නොවීය. පිටුපසින් මොරගා කෑගසන හඬකි:

''අල්තී-නා-යි!''

අමාරුවෙන් හිස ඔසවා බැලීමි. ජුයිෂෙන් අප වෙත දුවගෙන ආවේය. අඩ පණ වෙන තුරු පහර ලබා සිටි ඔහුගේ, ලේ පෙරෙන අතෙහි ගල් ගෙඩියකි. ඔහු පිටුපස පාසල් ළමයි ගමන් ගත්හ.

''මෘගයිනි, හිටපියව්, නැවතියව්, අතහැරපියව් අල්තීනායිව,'' ඔහු මර හඬ දෙමින් කෑගැසීය. මේ වන විට ඔහු අප පසුකරන තරම් වේගයකින් දිව්වේය.

තුවාල ලබා තිබූ අත වසා සිටි කමිසයේ අත්කර දත්වලින් අල්ලා ගනිමින් ජුයිෂෙන් අනිත් අතේ තිබූ ගල් ගෙඩිය අසරුවන් වෙත දමාගැසූ නමුදු එය ඉලක්කය අසලින් ගියේය. එවිට තෝමර කාරයෝ, නැවතත් වරක් ජුයිෂෙන් වෙත කඩා පැන පහරදී ඔහු මඩ ගොහොරුවක එබූහ. කිසිවක් නොපෙනී යන තරම් අන්ධකාරයකින් මගේ දෙනෙත් වැසීගියාක් මෙනි. ජුයිෂෙන් පිටුපස ආ ළමයින් ඔහු වටා සිටගෙන සිටි සැටි යම්තමින් දැක ගැනීමට මට පුළුවන් විය.

මා ගෙනයනු ලැබුවේ කොහාටද, කෙසේද යන්න ගැන කීමට මම නොදනිමි. මා කූඩාරමක් තුළ සිටින බව දැනිණි. කූඩාරමේ මුදුන වසා නොතිබිණ. මුදුනේ තිබූ ඒ විසාල සිදුර තුළින් සැන්දෑ අහසේ බැබලෙන තරු දුටිමි.

කිසිදු අනතුරක් නැතිව දීප්තිමත් ලෙස බැබලෙන ඒ සැඳෑ තරුවල කාන්තිය නෙතට ලක්විය. අසලින් ගලා බසින ගඟක් ශබ්දකරයි. රෑ කුකුළන්ගේ බියගත් ඝෝෂාව බැටළු රැලක් ළඟ එන බව කියා පෑය. නිවී ගිය ගිනිමැලය අසල කරවල මෙන් වියලී ගිය වයස් ගතවූ ගැහැණියක් හිඳගෙන සිටියාය. ඇගේ මූණ රාත්‍රි අඳුර මෙන් කළු පාටය. මම හිස අත් අතකට හරවා ගත්තෙමි. එක් බැල්මකින් ඔහු මරාදැමීමට මට පුළුවන් නම්!

"කළුහාමි ඔකිව නැගිට්ටවපන්!" මෙසේ අණ කළේ රතු මූණාය.

කරවල වැනි වියලී ගිය අත් වලින් මගේ උරහිස් අල්ලා ඈ සොලවන්නට වූවාය.

"උඹේ සහකාරීයව සනසාපන්. ඇට කියාදීපන්. ඇහුවේ නැතුවට පලක් නෑ. ඈ සමග කරන කතාව බොහොම කෙටියි."

රතු මූණා කූඩාරමෙන් පිට විය. කලු ගැහැණිය වචනයකුදු නොදොඩා කරබාගත්වනම සිටියාය. සමහර විට ඈ ගොළු ගැහැණියක් වන්නට ඇත. නිවී ගිය ගිනිමැලයේ අළුවලට සමාන ඇගේ දෙනෙත් මළ එකියකගේ මෙන් විය. කුඩා කල සිටම හාම්පුතුන් නැතිවැ අඩාවතේ යන බල්ලන්ට, කුරිරු මිනිස්සු අතට අසුවන හැම දෙයින්ම දමා ගසති. බල්ලෝ කෙමෙන් ඒ අතෝරයන්ට පුරුදුවෙති. උන්ගේ ඇස් හිස්

බවක් සහ සානුකම්පික බවක් කියාපායි. කළු ගැහැණියගේ බැල්ම, මා පීවතුන් අතර නොව මළවුන් අතර සිටින බවක් සිහියට නංවාලයි. එය විශ්වාස කිරීමට තුඩු නොදුන්නේ අසලින් ගලා බසින ගඟේ ජලය නගන ශබ්දයයි. වරෙක එම ශබ්දය වැඩිවෙයි, වරෙක අඩුවෙයි. ගඟේ ජලය නිදහසේ ගලා බැස්සේය.

නැන්දේ, නුඹ තරම් දුෂ්ට දුර්දාන්ත ගැහැණියක් තවත් නැහැ. සඳහටම නුඹට සාප කරනවා. මගේ කඳුළු සහ ලේ නුඹ ගිල දැමීමට සමත් මහා ගංගාවක් වේවා! පහළොස් හැවිරිදි කෙල්ලකවූ මා එදා රෑ ගැහැණියක් බවට පත්වූවද ඒ ස්ත්‍රී දූෂකයාගේ දූ පුතුන්ට වඩා මම වයසින් බාල වීමි...

කෙසේ හෝ පැනයා යුතුයැයි මම තුන්වැනි රාත්‍රියේදී තීරණය කරගතිමි. මා අතරමං වී ගියාවේ. මා ලුහුබැඳ ආවාවේ. මගේ ගුරුතුමා – දුයිෂෙන් මෙන් මමද අන්තිමය දක්වා සටන් කරන්නෙමැයි ඉටාගතිමි.

ඝන අඳුර පැවති කූඩාරම තුළින් පිටවීම සඳහා, කිසිවෙකුට නොඇසෙන සේ හෙමින් හෙමින් පා තබමින් දොර ළඟට ආ නමුදු, කඹයකින් දොර පොල්ල ගැට ගසා තිබිණි. ඒ ගැට අඳුරේ ලිහා දැමීම කළ නොහැක්කකි. කූඩාරම තුළින් පොළව හාරා සිදුරක් සාදාගෙන ඉන් රිංගා සෑම මගේ අදහස විය. මා

එසේ කිරීමට තැත්කළ නමුදු කූඩාරම පොළවට තදවනසේ ශක්තිමත්ව සාදා තිබුණෙන්, එයද කළ නොහැකි විය.

කළ යුතු එකම දෙය පිහියක් වැනි මුවහත් දෙයක් සොයා දොර පොල්ල බැඳ තිබෙන කඹයේ ගැට කපා දැමීමයි. අඳුරේ ඒ මේ අත යමින් අතපත ගෑ නමුදු සොයාගත හැකි වූයේ ලී ඇබයක් පමණකි. ආවේශවූ විටක මෙන් මම කූඩාරම යට පොළව හාරන්නට වීමි. මා කරන්නේ බලාපොරොත්තු රහිත වැඩක් වුවද ඒ ගැන කල්පනා කර බැලීමට තරම් මට වෙලාවක් නැත. මා හිත යොමුවූයේ එකම අදහසක් කෙරෙහිය. කෙසේ හෝ මෙතැනින් පැන යාමය. නැතිනම් මිය යාමය. ගොරවමින් නිදන ඔහු ආශ්වාස-ප්‍රශ්වාස කරන සැටි අසා සිටීමට තවත් මට නොපුළුවන. මෙතැනින් පිටවී සිය පණ හානි කරගත යුතුය. යටත් නොවී නිදහසේ මිය යා යුතුය!

තොකොල් – දෙවැනි බිරිඳ. අහෝ ඒ වචන වලට මම කොතරම් වෛර කරම්ද! කවුරුන් විසින් ඒ වචනය සොයාගනු ලැබුවේද! සිතත් කයත් දෙකම වහල්භාවයට හෙළනු ලැබ සිය කැමැත්තට එදිරිව දෙවැනි බිරිඳක් බවට පත්වූ එකියකගේ තත්ත්වය කොතුරම් අසරණදැයි ඔබ දන්නෙහිද? මිනිස් උරුමය උදුරාගනු ලැබ, වදවේදනාවලට, විනාශයට හා මරණයට කැපවූ

අවසනාවත් කාන්තාවෙනි, මීනී වළවල් තුළින් නැගිටපල්ලා! වදහිංසා වලට පාත්‍රවූ කාන්තාවෙනි, ඒ අඳුරු යුගය බියගන්වමින් නැගී සිටපල්ලා! නුඹලාට මූණ පාන්නට සිදුවූ ශෝකජනක ඉරණමට, මුහුණදී එය අභිබවා නැගී සිටීමට උත්සාහ කරන, නුඹලාගේ පෙළපතට අයත් අන්තිම එකියවූ මාය, නුඹලාට මෙසේ ආමන්ත්‍රණය කරන්නේ!

ඒ වචන කියාපෑම ඉරණම විසින් මට භාරදී තිබෙන බව එදා රෑ මම නොදැන සිටීයෙමි. ආවේශවූ එකියක මෙන් මා එදා කූඩාරම තුළ පොළව හාරන්නට වීමි. ගල් සහිත පොළව මට යටත්වීමට කැමති වූයේ නැත. නියපොතු බදා සිටි සිහින් හම පිපිරී ලේ ගලන්ට වූවද පොළව හෑරීම නැවතුවේ මා නොවේ. යම්තම් අතක් පමණක් එබීමට තරම් වළක් කූඩාරම යටින් හාරාගන්ට පුළුවන්වූයේ අරුණෝදය වැටුණු පසුවය. බල්ලෝ බුරන්ට වූහ. අසල් වැසියෝ නැගිටින හඬද ඇසිණ. අශ්වයෝ රංචුවක් 'ටක්' 'ටොක්' යන හඬනගමින් දිය බීමට ගිය අතර, නිදිමතින් බර බැටළු රැලක් ශාන්තව ගමන් ගත්හ. පසුව කූඩාරම තුළට පිවිසි එකියක් බිම අකුරා තිබූ පලස් අසුරන්නට වූවාය. ඒ කළු ගැහැණිය ගොළුවකු සේ වැඩ කටයුතු වල නිරත වූවාය.

එහෙනම් වෙනින් තැනකට යාමටයි සූදානම්

වන්නේ. හෙට වෙනින් තැනකට යායුතු බවත්, පසුව ඈත කඳුකරයට ගොස් ගිම්හානය ගත කළ යුතු බවත් කියනවා මට ඊයේ ඇසිණි. මගේ සිත කම්පා විය. අලුත් තැනක සිට පළා-යාම සියවාරයක් අසීරුය.

මවිසින් හාරනු ලැබූ වළ අසලම වාඩිවුනු මා යම්තමින්වත් සෙලවුනේ නැත. සැඟවීමට කිසිදු හේතුවක් හෝ උවමනාවක් නොදනිමි... කූඩාරම තුළ පොළව හාරා තිබෙන සැටි කළු ගැහැණිය දුටු නමුදු ඈ කිසිවක් නොදොඩා සිය කටයුතුවල නිරත වූවාය. ඈ හැසුරුණේ කිසිවක් නොදුටුවාක් මෙනි. ජීවිතය ඈට කිසිදු සතුටක් හෝ ප්‍රීතියක් ගෙන නොදෙන බවත් ඈ තුළ කිසිදු හැඟීමක් ඇති කරවීමෙහි සමත් දෙයක් නැති බවත් ඇගේ ඉරියව් කියා පෑවේය. නිදාසිටි ස්වාමි පුරුෂයා කුද්දන්ට ඈ ඉදිරිපත් නොවූවාය. ගමනට සූදානම් වීම සඳහා ඔහුගෙන් උදව් ඉල්ලීමට පවා ඈ මැලිවූවාය. ගීත කබායක් හැඳ තවත් පොරෝනා කීපයක් පොරවාගෙන, ඔහු ගොරව ගොරවා නිදයි.

කූඩාරම තුළ එලා තිබූ පලස් සියල්ලම අසුරන ලදී. ඉතිරිව තිබුනේ කූඩාරම ගළවා දැමීම පමණකි. කුඩුවක සිරකොට තබනලද එකියක මෙන් වාඩිවී සිටි මට ගඟින් එහා හරකුන් හා අසුන් පිට බඩු පටවන සැටි පෙනිණි. බඩු පැටවීමෙහි යෙදී සිටි මිනිසුන් වෙත අසරුවන්

තිදෙනෙකු එන සැටි මම දුටුවෙමි. ඔවුන්ගෙන් මොනවාදෝ ඇසූ අසරුවෝ අප සිටි තැනට පැමිණෙනු වස් හැරුණහ. මා කලින් සිතුවේ ඒ මිනිසුන් ගමන් මාර්ගය පෙන්වන්නවුන් හැටියටය. එහෙත් පසුව මා දුටු දර්ශනය මා සිත අඩපණ කළේය. අසරුවන් තිදෙනාගෙන් එකෙක් දුයිෂෙන්ය. අනික් දෙදෙනා රතු පාට උර පටි පැලඳ ගත් මහජන මිලිෂියා භටයෝය.

මා වාඩිවී සිටියේ මියගිය එකියක මෙන් විය යුතුය. කෑගැසීමට පවා මා තුළ ශක්තියක් නොතිබිණි. සැනෙකින් මගේ හදවත ප්‍රීතියෙන් ඉපිල ගියේය. ගුරුතුමා ජීවත්ව ඉන්නවා. එහෙත් මගේ සිත පාළුවී ගොස් තිබිණ. මා විනාශයට හා දූෂණයට ගොදුරුවී සිටින්නියකි...

දුයිෂෙන්ගේ හිස සහ අතක් බැන්ඩේජ් පටිවලින් වෙළා තිබිණි. ඔහු අසූ පිටින් පැන්නේය. පා පහරකින් දොර ඇරගෙන කුඩාරමට ඇතුළු විය. රතුමූණා පොරවාගෙන සිටි ලොම් සහිත පොරෝනා ඇද දැම්මේය.

"නැගිටපන්!" යැයි මහ හඬින් කෑගැසීය.

රතු මූහුණා හිස ඔසවා ඇස පිස දමා ගනිමින්ම දුයිෂෙන්ට පහර දීමට මාන බැලුවේය. එහෙත් සැණෙකින් මිලිෂියා කාරයෝ දෙදෙනා රතු මූහුණා අල්ලාගත්හ. දුයිෂෙන් ඔහුගේ කමිසයේ කරපටිය අල්ලා තමා ළඟට ඇද්දේය. රතු මුහුණගේ හිස දුයිෂෙන්ගේ හිසට ළංවිය.

''වල්ඌරා!'' යැයි ඩුයිෂෙන් දත් විලිස්සමින් ගුගුළේය. ''දැන් ඉතින් වරෙන් යා යුතු තැනට! යමු!''

රතු මුහුණා බියසුලු ගතියක් පාමින් කීකරුව ගමන් කළේය. එහෙත් අර මිනිහාගේ උරහිසින් අදිමින් ඩුයිෂෙන් ඔහු දෙස රවා බැලීය. කැළඹුණු ස්වරයකින් ඔහු මෙසේ පැවසීය.

''තණකොළ පොඩි කරන්නා වගේ ඇ සමතලා කොට විනාශ කලා යැයි උඹ හිතනවද? මෘගයා, උඹේ කාලෙ ඉවරයි!.. දැන් ඇගේ කාලයයි!''

රතු මුහුණාට සපත්තු හැඳ ගැනීමට අවසර දෙනලදී. පසුව ඔහුගේ දෑත්පිටිකර කොට බැඳ අසෙකු පිට ඔහු නංවනලදී. එක් මිලීෂියා භටයෙක් අසු මෙහෙයැවීය. අනික් මිලීෂියා භටයා පසුපසින් සිය අසුපිටින් ගමන් කළේය. ඩුයිෂෙන්ගේ අසු පිට නැගීමට මට සලස්වනු ලැබූ අතර ඔහු මා අසලින් ගමන් කළේය.

අප කූඩාරමෙන් බැහැරව ගමන් ආරම්භ කරත්ම, අමනුස්ස විලාපයක් වැනි හැඬීමක් ඇසිණ. අර කළු ගැහැණිය අප පිටුපසින් දිව ආවාය. ඇ ගලක් ගෙන සිය සැමියාවූ රතු මුහුණාට, ඔහු ඇඳ සිටි හිවල් සිමින් කළ තොප්පියට පහර පිට පහර දෙන්ට වූයේ පිස්සියක මෙනි.

''තෝ මගේ ළේ උරා බීවා, මිනීමරුවා!''

යැයි ඈ මර ලතෝණි දුන්නාය. "මගෙ මරණ මොහොතේදී වුනත් උඹට සමාව දෙන්නේ නැහැ, මිනීමරුවා. උඹව ජීවතුන් අතර තියන්-නේ නැහැ!"

අවුරුදු හතළිහක් තිස්සේ ඈ හිස ඔසවා කතා නොකළා වෙන්නට ඇති. එහෙත් දැන් සිතත්, කයත් වෙලා සිටි හැඟීම් වේගයන් ගලා බසින ජල ධාරාවක් මෙන් නැගී ආවේය. ඇගේ සාප කිරීම් දසත පැතිර ගොස් දෝංකාරය ඇති කළේය. වරෙක එක් පැත්තකින්ද තවත් වරෙක තවත් පැත්තකින්ද දුවගිය ඈ බියසුලු නිවටයෙකු මෙන් වකුටුවැ අසු පිටින් යන ඇගේ සැමියාට ගොමවලින්ද, ගල්-මුල් සහ පස්වලින්ද, අතට අසුවන හැම දෙයකින්මද දමා ගසමින් සාප කළාය:

"උඹ යන තැන කණකොළ ගහක්වත් පැල-වෙන්ට එපා! උඹේ මළමිනිය වළ නොදා තිබුනාවේ. තොගේ ඇස් කළු කපුටෝ උගුල්ලා-ගෙන කාපුවාවේ! පල යන්ට හැඳිගෑවිලා පල! මගේ දෑසට නොපෙනී සඳහටම දුරුවෙයං! මිනීමරුවා, මෘගයා, හැඳි ගෑවියං!" පසුව ඈ සුසුම් ලමින් ඉවත ගියාය. සුළං පහරට අවුල්වූ හිසකෙස් නිසා බියපත් වූවාක් මෙන් ඈ වේ-ගයෙන් දුවන්ට පටන් ගත්තාය.

අසල් වැසියෝ අසුන් පිට නැගී ඇය අල්ලා ගැනීම පිණිස ගියෝය.

බියකරු සීනයක් දුටු කලෙක මෙන් මගේ හිස දෙදරන්නට විය. විඩාවට පත්වූ සහ පාගා දමනු ලැබූ මා අසු පිටින් ගමන්ගත්තේ වේදනාවෙනි. අසුගේ නාස් ලනුව අතින් ගත් දුයිෂෙන් ගමන් කළේ පටිවලින් වෙලනු ලැබූ තමාගේ හිස පාත් කර ගනිමිනි.

වේදනාව හා වදහිංසා ගෙනදුන් කළුබැවුම් පසුකර යාම සඳහා සෑහෙන වේලාවක් ගතවිය. මිලීෂියා කාරයෝ සිරකරුවාත් රැගෙන බොහොසෙයින්ම ඉදිරියෙන් ගමන් ගත්හ. අසු නැවැත්වූ දුයිෂෙන් පුදුමවූ කලෙක මෙන් මා දෙස පළමුවරට ඇස් ඔසවා බැලීය.

"අල්තීනායි උඹව ආරක්ෂා කරගැනීමට මට බැරිවුනා. සමාවෙයන්". පසුව ඔහු මගේ අතක් ගෙන ඔහුගේ කම්මුල මත තබාගනිමින් මෙසේ කීය: "උඹ මට සමාව දුන්නත් මම, මටම කිසිදාක සමාව දෙන්නේ නැහැ..."

හුස්ම ගැනීමට බැරිවූ කලෙක මෙන් මම අශ්වයාගේ බෙල්ලේ එල්ලී ගතිමි. මා හඬා අවසානවන තුරු දුයිෂෙන් මගේ හිස පිරිමැද්දේය.

"අල්තීනායි, අඬන්ට එපා. යමු. මේ අහපන් මං කියන දේ. තුන්වැනිදා මම ප්‍රාදේශ කාරියාලයට ගියා. නුඹව ඉගෙන ගැනීමට නගරයට යවනවා. නුඹට ඇහෙනවද?"

පිරිසුදු දිය පාරක් වෙතට ආ ඉක්බිතිව

දුයිෂෙන් අසු නැවැත්වීය.

"අල්තීනායි අසු පිටින් බැහලා නාගනින්. මෙන්න මම සබන් කෑල්ලක් ගෙනාවා"යි කියමින් ඔහු කමිස සාක්කුවෙන් සබන් කෑල්ලක් එළියට ගත්තේය. "ලෝබ නැතුව හොඳට නාගනින්. මම එහා පැත්තට ගිහිං අස්වයාට තණකොළ කවන්නම්. ඇඳුම් ගලවලා ගඟට බැහැලා නාගනින්. වෙච්ච දේ සියල්ල අමතක කරපන්. හොඳට නාගත්තාම හිතට ලේසියක් දැනේවි. හොඳේ?"

මම හිස වැනුවෙමි. දුයිෂෙන් අහක ගිය පසු ඇඳුම් උනා ගඟට බැස්සෙමි. ගඟ පතුලේ තිබූ රතු, නිල් සහ සුදු ගල්කැට මා දෙස බැලුවෝය. නිල්වන් දියපාර බුබුලු නගමින් ඇස්වට දක්වා ගලා ගියේය. මම දිය කිමිදී නැවෙමි. සිසිල් ජලය මා වැළඳ ගත්තේය. දවස් කීපයකට පසු මම පළමුවරට සිනාසුනෙමි. සිනාසෙන විට කොතරම් ප්‍රීතියක්ද දැනෙන්නේ. කීප වරක්ම දිය කිමිදී නැවෙමි. පසුව තවත් ගැඹුරු තැන් සොයා පීනුවෙමි. එහෙත් දියපාර මා නොගැඹුරු තැනකට ගෙන ගියේය. නැවතත් වරක් බුබුලු නගමින් ගලායන දියපාරට පැන නැවෙමි.

"වතුර! ඒ දවස්වල කුණු කිලුටු පලවාහැර මා සෝදා ගන්න, නුඹ වගේම පිරිසුදු බවක් මට ලබා දෙන්න, ජලය!" තොල මතුරමින්

කුමක් නිසා දැයි නොදන මම සිනාසුනෙමි.

තමාට වැදගත්වූ තැන්වලදී පා සටහන් සදාකාලිකවම තබා යාමට මිනිසාට බැරි ඇයි? දුයිෂෙන් සහ මා කඳුකරයේ සිට ආ ඒ අඩි පාර සොයා ගන්නට හැකිනම්, ගුරුතුමාගේ පා සටහන් සොයා ඒවා සිපගැනීමට මා සූදානම්ය. ඒ අඩි පාර සියලුම මාගී හා මාවත් වලට වඩා මට අගනේය. මා යළි ජීවිතයට ගෙනැවිත්, මට අලුත් විශ්වාසයක් දී, අලුත් බලාපොරොත්තු සහ ආලෝකය ලබාදුන් ඒ දවසටත්, අඩිපාරට සහ මාවතටත් දේවාශීර්වාද ලැබේවා... එදා පැවූ ඉරටත්, එදා පැවති කාලගුණයටත් කෘතඥතාවය හිමිවේවා...

දවස් දෙකකට පසු දුයිෂෙන් මා දුම්රිය පොළට කැඳවා ගෙන ගියේය.

එම සිද්ධියෙන් ඉක්බිතිව අයිලයේ නැවතී සිටීම නුවණට හුරු නැති බව පෙනිණි. අළුත් ජීවිතයක් පටන්ගත යුත්තේ අළුත් තැනකිනි. මගේ තීරණය නිවැරදි බව ජනතාව කීහ. මා සමග දුම්රිය පළට ගිය අකික් දෙදෙනා සයිකාල් හා කරකේය. ඔවුහු කුඩා ළමයින්සේ හැඬූහ, වැලපුනාහ. අතර මගදී කෑමට ගන්නයැයි කියමින් ආහාර වර්ග පිරවූ කොට්ටඋරයක් සහ පැකට් කීපයක්ද මට තෑගි කළහ. අපේ අසල්වැසි, නිතර වාද කිරීමෙහි සමත් සතිම්කුල්ද මට ආයුබෝවන් කීමට ආවේය.

"අනේ පුළුවේ උඹට දේව පිහිටයි. සුබ ගමන්" යැයි ඔහු කීය. "බය වෙන්ට එපා. ලුයිෂෙන් ගුරුන්නාන්සේ කියන විධියට වැඩ කරපන්. උඹට හරි යාවි. මොනවට කියනවද අපිටත් කාරණා, කාරණා, තේරෙන්ට පටන් අරගෙන තියෙනවා."

ගමේ සිට දුම්රිය පොළට එනවිට, මා ගමන් කළ ගැල පසුපසින් දුව ආ පාසල් ළමයි අත වැනූහ...

තෂ්කන්ට් අනාථ ළමා මන්දිරයට යන තවත් ළමයි කීපදෙනෙක් මා සමග ගමන් ගත්තෝය. දුම්රිය පළේදී අප එන තුරු සමින් කළ කබායක් හැඳගත් රුසියානු ගැහැණියක් බලා සිටියාය.

ඊට පසු කී වාරයක් මම, ඒ කුඩා කඳුගැටය සහ පොප්ලර් ගස්දෙක අසලැති දුම්රිය පොළ පසුකර ගියෙම්ද, මගේ හදවතෙන් හරි අඩක් මා එහි තබා ගිය බවකි මට දැනෙන්නේ.

මලානික නිල්වන් වසන්තයේ සැන්දෑව කණගාටුදායක බවක් සහ හදවත පාළු කරන ගතියක් කියා පෑවේ අපේ වෙන්වීම කල්ඇතිව හැඟවීමට මෙනි. සිය හැඟීම් ප්‍රකාශ නොකිරීමට ලුයිෂෙන් මහන්සි ගත්තේය. ඔහුගේ හදවත කොතරම් දැඩි වේදනාවකින් පෙළෙන්නේද යන්න මම දනිමි. ඔහු මා දෙස ඉතා ඕනෑකමින් බැලුවේය. ඔහු නිතර මගේ හිසද, ඉඳහිට මගේ මුහුණද අත ගෑවේය. වරක් හැඳ සිටි

ගවුමේ බොත්තමක් පවා හරිගැස්සුවේය.

"අල්තීනායි, උඹට අඩියක්වත් මා වෙතින් හෙලවෙන්ට ඉඩ හරින්නේ නෑ. ඒ වුනාට එහෙම කරන්ට මට අයිතියක් නෑ, තේරුණද? මම එතරම් උගතෙක් නෙවි. නගරයට යන එක හොඳයි... උඹ සමහර විට නියම ගුරුවරියක් වෙන්ට පුළුවන්. එදාට අපේ ස්කෝලෙ අමතක කරන්ට එපා. එදාට උඹ හිනාවේවි... උඹ යන එක හොඳයි... බොහොම හොඳයි..."

කඳුකරය අතරින් හඬ නගමින් දුව එන දුම්රියේ විදුලි එළිය දුටිමි. දුම්රිය පොලේ මිනිස්සු කලබල වූහ.

"උඹ දැන් නගරයට යනවා" යැයි මට අත' ටත දුන් දුයිෂෙන් දුක්මුසු ස්වරයකින් පැවසීය. "අල්තීනායි, උඹට වාසනාව උදාවේවා. ප්‍රධාන කාරිය ඉගෙන ගන්න එකයි..."

ඇසින් වැගිරෙන කඳුළු මගේ උගුර සිරකළෙන් මට පිළිතුරු දීගත නොහැකි විය.

"අඬන්ට එපා, අල්තීනායි." දුයිෂෙන් මගේ කඳුළු පිස දැමුවේය. "අපි දෙන්නා හිටවපු අර පොප්ලර් ගස් දෙක මම බලාගන්නම්" යැයි හිටිහැටියේ දුයිෂෙන් කීය. "උඹ ලොකු උගත් ගැනියෙක් වෙලා ගමට එනකොට ඒ ගස් ලස්සනට වැඩිලා තියේවි."

ඒ අතර දුම්රිය, ශබ්ද කරමින් හා දුම් ගුලි පිට කැරැමින් පදික වේදිකාවට ළංවිය.

''අපි ආයුබෝවන් කියා ගනිමු'' යි කී දුයි-ෂෙන් මගෙ නළල සිපගත්තේය. ''නුඹට හතුරු අන්තරාවක් නැතිව ඉගෙනගැනීමට ඉඩ ලැබේවා. වාසනාව ලැබේවා. බයවෙන්ට එපා, කෙල්ලෙ... හිතට දහිරිය අරගනිං.''

මම දුම්රියේ පාපුවරුවට පැන හැරී බැලු-වෙමි. තුවාල වූ අත වෙලා බැඳගෙන සිටි දුයිෂෙන්ගේ මලානික ඇස් මා දෙනෙතට හමු-විය. ඔහු එදා මා දෙස බලා සිටි හැටි මට කිසිදි-නෙක අමතක නොවේ. මා ඇල්ලීමට මෙන් පසුව ඔහු අත දිගු කරත්ම, දුම්රිය සිය ගමන ඇරඹීය.

''ආයුබෝවන්, අල්තීනායි, ආයුබෝවන්, රත්-තරං කෙල්ලේ!''

''ආයුබෝවන්, ගුරුතුමාණෙනි! දයාබර ගුරු-තුමාණෙනි, ආයුබෝවන්!''

දුයිෂෙන් දුම්රිය මැදිරිය අසලින් අඩි කීපයක් දිව්වේය. පසුව නැවතී මහ හඬින් කෑගැසීය:

''අල්-තීනා-යි!'

ඔහු කෑගැසුවේ හරියට අමතක වූ වැදගත් යමක් කියන්ට සූදානම්වූ නමුදු එසේ කීමට වේලාවක් නැතිව ගියාක් මෙනි... මගෙ හදව-තෙහි පතුල දක්වා සහ අධ්‍යාත්මයෙහි ගැඹුර දක්වා විනිවිද ගිය ඔහුගේ හඬ තවමත් එහිම සුර්කිව පවතී...

උමං ගෙයක් හරහා වේගයෙන් දුවගිය දුම්-

රිය ඉක්මණින් කසාක් සමබිමට වැටුනේ මා නව දිවියක් කරා ගෙනයමිනි.

ගුරුවරයාට සහ මගේ පළමුවැනි පාසලටද ආයුබෝවන්, ළමා කාලයට සහ එළිපිට නොකී ආලයට ආයුබෝවන්...

ඔව්, දුයිෂෙන්ගේ බලාපොරොත්තු සැබෑ කරමින් මම ලොකු නගරයක, විශාල ජනේල සහිත මහ පාසලක ඉගෙන ගත්තෙමි. කම්කරු-විද්‍යාලයකින් සමර්ථය ලැබූ මා වැඩිදුර ඉගෙනීම සඳහා මොස්කව්හි උසස් විද්‍යා ආයතනයකට යවනු ලැබීය.

ඉගෙනීම සඳහා වෙහෙස මහන්සිවූ ඒ කාලය තුළදී මට මූණපාන්ට සිදුවූ අමාරුකම් කොපමණද. කී වාරයක් මම බලාපොරොත්තු රහිත තත්ත්වයන්ට මුහුණ පෑවෙම්ද? විද්‍යාව හැදෑරීමට තරම්වූ කුසලතාවයක් මා හට නැතැයි යන හැඟීමද ඇතිවූ වාර කීපයකි. එහෙත් ඒ හැම අමාරු අසීරු මොහොතකදී මගේ පළමුවැනි ගුරුවරයා සිතින් මවාගත් මම ඔහුට දුන් පොරොන්දුව අනුව පසුනොබැසීමට ඉටාගතිමි. අනිත් අය එකවර අවබෝධ කරගත් කිසියම් දෙයක් මට අවබෝධ කරගත හැකිවූයේ බොහෝ වෙහෙස මහන්සි වී පාඩම් කිරීමෙන් පසුවය. හැමදෙයක්ම නැවත මුලසිට පටන්ගැනීමට මට සිදුවිය.

මම කම්කරු විද්‍යාලයේ ඉගෙන ගන්නා

සමයේදී මගේ පළමුවැනි ගුරුවරයාට ලිපියක් ලියමින්, ඔහුට පෙම් කරන බවත් ඔහු පතන බවත් කීවෙමි. එහෙත් ඔහු පිළිතුරු එව්වේ නැත. ඉන්පසු අප අතර ලියුම් ගනුදෙනු නතර-විය. ඔහු මා ප්‍රතික්ෂේප කළේ, මගේ ඉගෙනී-මට බාධාවක් වෙතියි යන බියෙනැයි මට සිතින. සමහර විට ඔහු නිවැරදි වන්නට පුළුවනි... සමහර විට එසේ කිරීමට වෙනත් හේතුන් තිබුනා විය හැකිද? ඒ කාලයේදී මා විඳි දුක් කරදර සුළුපටු නොවේ....

මගේ පළමුවැනි පශ්චාත් උපාධි සංග්‍රහය පිළිගනු ලැබුවේ මොස්කව්හිදීය. එය මගේ ජීවිතයේ විශාල ජයකි. මේ කාලයේදී මට අයිලයට යාමට අවස්ථාවක් නොලැබිණ. එහෙ-ත් මා පශ්චාත්උපාධිය දිනාගත් විගසම යුද්-ධය ආරම්භ විය. වරෙක මම මොස්කව් සිට ප්රුන්සේ නගරයට යමින් සිටියෙමි. මගේ ගුරුතුමා මට ආයුබෝවන් කියා ඇරළු ඒ දුම්රිය පොළට අපේ දුම්රිය පැමිණි පසු මම දුම්රි-යෙන් බැස්සෙමි. අපේ අයිලය හරහා රජයේ ගොවිපලට යන කරත්තයකින් අයිලයට යාමට මට අවස්ථාව ලැබීම වාසනාවකියි හැඟිණ.

අහෝ මගේ සුන්දර මව්බිම, අපට අමාරු කාලයක්වූ යුද්ධ සමයේදීය, මා ඔබ වෙතට ආවේ. සම්පූර්ණයෙන්ම නව තාවක් දරු මගේ අයිලය ප්‍රීතිය ගෙනදුන්නේය. අලුත් ජනපද

පෙනෙන්ට තිබිණ. වගාකර තිබෙන බිම් ප්‍රමාණය විශාලය. අලුත් මාවත් සහ පාළම්ද දුටුවෙමි. එහෙත් යුද්ධය මගේ හමුවීම අඳුරින් වසාදමීය.

අයිලයට ළංවෙත්ම මා හදවතෙහි පැවති නොසන්සුන්තාවය වැඩෙන්ට විය. නුපුරුදු පාරවල්, ගෙවල්, ගෙවතු මගේ ඇසට හසු විය. අපේ පාසල තිබූ කඳුගැටය දෙස ඕනෑකමින් බැලුවෙමි. පාසල අසල වැවී තිබුණු විශාල පොප්ලර් ගස්දෙක දුටු මගේ හදවත වේගයෙන් සැලෙන්නට විය. හුස්ම ගැනීමට පවා අපහසු බවක් දැනිණි. පොප්ලරයෝ දෙදෙන සුළඟට වැනෙන්ට පටන්ගත්හ. මගේ මුළු මහත් ජීවිත කාලය තුළදී ''ගුරුතුමා'' යන්නෙන් ආමන්ත්‍රණය කළ ඒ පුද්ගලයාගේ නම කියා හඬ නැගුවෙමි.

''දුයිෂෙන්! ඔබට ස්තුතියි. දුයිෂෙන්, ඔබ මට කොතරම් උදව්කළාද! අමතක කළේ නැහැ. කල්පනාවෙන් වැඩකළා ඒ ගස් හරියට ඔබ වගේ.'' යැයි තොල මැතුරුවෙමි.

මගේ ඇස් කඳුලෙන් පිරී තිබෙන සැටි දුටු කරත්තකාර ගැටවරයා අන්ද මන්ද විය.

''ඔබට අසනීපද?''

''නැහැ, නිකම්. මේ ගොවිපලේ කාවහරි උඹ හඳුනනවාද?''

''අඳුණනවා. මේ ගොවිපලේ සියලු දෙනා අපේම අය.''

"ඩුයිෂෙන් අඳුණනවද? එයා ස්කෝලෙ උගැන්නුවා."

"ඩුයිෂෙන්වද? එයා යුද්ද හමුදාවට බැඳිලා පෙරමුණට ගියා. එයා යුද්ධ කාරියාලයට ගියේ මගේ මේ කරත්තෙන් තමයි."

අයිලයට ඇතුළුවන තැනදී කරත්තය නවත්වන්නට යැයි කී මම ඉන් බැස සිතන්ට වීමි. මේ වගේ කාලයක අයිලයේ ගෙවල් ගානේ ගොස්, මාව හඳුනනවා දැයි ගම්මුන්ගෙන් ඇසීමටත්, මම මේ අයිලයේ කෙනෙක් යැයි කීමටත් සුදුසු අවස්ථාව නොවේ යැයි මටම කියා ගතිමි. ඩුයිෂෙන් යුද පෙරමුණේය. නැන්දා සහ මාමා ඉන්න ගෙදරට මම කිසි දවසක නොයමියි දිව්රුම් දුන්නේ බොහෝ කලකට පෙරය. බොහෝ වැරදි වලට මිනිසුන්ට සමාව දිය හැකිය. එහෙත් ඔවුන් කළ දුෂ්ටකම් වලට සමාව දීම කිසිසේත්ම කළ නොහැකිය. මා අයිලයට ආ බවක් පවා ඔවුන් දැනගන්නවාට මම අකමැති වූයෙමි, පොප්ලර් ගස්දෙක තිබෙන කඳුවැටිය දෙසට ගමන් කළෙමි.

අනේ, අනේ පොප්ලරයෙනි! නුඹලා ලපටි පැලයන්ව සිට දැන් ලොකු ගස් දක්වා වැඩී සිටිති. මේ කාලයේදී කොතරම් දේවල් වෙනස්වී තිබේද! නුඹලා සිටවමින්, බලාපොරොත්තු බවේ සිහින දුටු ඒ පුද්ගලයා කී අනාවැකි සියල්ල ඉටුවී තිබේ. ඇයි නුඹලා මේතරම්

දුක්මුසු බවකින් සුසුම් ලන්නේ, කුමක් නිසාද හඬා වැලපෙන්නේ? ළඟ ළඟම ශීත කාලය එන බැවින් තුඹලාගේ අතුවල කොළ හැලී යන නිසාද? ජනතාවගේ දුක්ගැහැට විඳ දරාගැනීමට බැරිනිසාද?

ඔව්, ශීත කාලය පැමිණේවි. තද ශීත කුණාටු හමාවි. හිමකැට සහිත මහ නපුරු සුළි සුළං හමාවි. එහෙත් වසන්තය එනවා සත්තකයි....

සරත් සමයේ සුළං පාරට අසුව හඬ නගන ගස්දෙස බලමින් මම බොහෝ වේලා සිටියෙමි. ගස් දෙකට වතුර ලැබෙන දියපාර මේ ළඟදී කවුදෝ පුළුල් කොට අළුත් වැඩියා කළ බවට සලකුණු තිබිණ. අළුතෙන් ගැසූ උදලු පාර වල සලකුණු එලෙසම තිබිණ. දියපාර පුරා ගලායන වතුර තැනෙක රැඳුණු විට සුළඟ නිසා රැලි ගැසෙයි. රන් පැහැති කොළ වතුරට අසුව තාලයකට නැටීමට පටන් ගත්තාක් මෙන් සැලෙන්ට විය.

කඳු ගැටයේ සිට බලන මට අපේ අළුත් පාසලේ වහල පෙනිණි. එහෙත් අපේ පැරණි පාසලේ හෝඩුවාවක්වත් සොයාගැනීමට නොහැකි විය..

කඳුගැටයෙන් පහලට විත් කරත්තයේ නැගී මම ආපසු දුම්රිය පොළ වෙත ගියෙමි.

යුද්ධය ඇති විය. අනතුරුව ජය ලබාගතිමු. යුද්ධය විසින් ජනතාවට දෙනුලැබූ දුක්බර

දායාදයන් කොපමණද! ළමයින් පාසල් ගියේ පියවරුන්ගේ යුද්ධමළු කිහිලි ගසා ගනිමිනි. සමහර යුදබටයෝ නැවත ගොවිතැනට බටහ. යුද්ධයේදී දිවිපිදූවන්ගේ භාර්යාවෝ කඳුලෙන් පිරී ඇස්වලින් යුතුව, වැන්දඹු-බිරියන්සේ තමන්ට ලැබුණු ඉරණම හා සමග සමාදාන වූවාක්මෙන් වැඩෙහි යෙදුණාහ. සමහරු සැමියන්, පුතුන් හා නෑයන් දැන් දැන් එතියි යන බලාපොරොත්තුවෙන් පසුවූහ. යුද්ධයෙන් පසු හනික ගෙදර ආවේ හැම එකෙක්ම නොවේ.

ලුයිෂෙන්ට කුමක් වූයේදැයි දැනගැනීමට නොලැබිණ. නගරයට නිතර ආ ගමේ උදවිය, ඔහු ගැන ආරංචියක් නැති බවත්, යුද්ධයේදී ඔහු මියයන්ට ඇතැයි විශ්වාස කරන බවත් කීවෝය. ඔහු ගැන කිසිදු තොරතුරක් දැනගැනීමට නැති බව දන්වෙන ලිපියක් ගමේ සෝවියට් සභාවට ලැබිණ.

"යුද පෙරමුණේදී මිය යන්ට ඇති. දවස් යනවා නොවැ. එයා ගැන කිසිම ආරංචියක් නැත්තෙ ඒ නිසා වෙන්ට ඕන" ඔවුහු කීහ.

"මගේ ගුරුතුමා නැවත කිසිදවසක පීවතුන් අතරට එන්නේ නැහැ," යි සමහර අවස්ථාවලදී මම සිතුවෙමි "අපි සමුගත් දාට පසුව කිසිම දවසක නැවත හමුවුනේ නැතිවම, ඔහු වෙන්වුනා."

අතීතය මතක් වීම විසින් මා හිත තුළ ගොඩ

x*

ගැසුනු ශෝකය මා සිතුවාට වඩා විශාලය.

මම එක්දාස් නවසිය හතළිස් හයේදී විද්‍යා පරීක්ෂණ කටයුත්තක් සඳහා ටොම්ස්ක්හි සරසවියට යමින් සිටියෙමි. සයිබීරියාව හරහා මා ගමන් කළ පළමුවැනි වාරය එයයි. සීත සමය පටන්ගැනීමට ඔන්න මෙන්න කියා තිබූ ඒ දවස්වල සයිබීරියාව අඳුරු ශීත බවක් දක්වීය. සියවස් ගණන් පැරණි කැලෑ අඳුරු පටලයක් මෙන් විය. අතරින් පතර ගෙවල්වල කළුපැහැති වහලවලට උඩින් සුදු දුම්වලා දක්ක හැකිය. කුඹුරුවල නැවුම් හිම වැටී තිබිණ. තද ශීත නිසා පිහාටු වකුටු ගසාගත් කාක්කෝ කෑගැසමින් පියාඹා ගියාහ. අහස නිතරම මූසල ගතියක් පෙන්වීය.

එහෙත් මා සමග දුම්රිය මැදිරියේ ගමන් කළ අසල්වැසි මගියා යුද පෙරමුණේ සේවය කළ එකෙකි. ඔහු ලී කකුලක් පාවිච්චි කරමින් ඇවිද්දේය. යුද්ධ ජීවිතය පිළිබඳ කරමින් ඔහු කී විහිළු කතා හා උපහාසාත්මක වදන් නිසා මම සිනාසෙමින් ප්‍රීතිවූනෙමි. ඔහු කතා ගෙතීමේ මහා හපනෙකි. අපහාසයෙන් තොර ඒ උපහාසාත්මක කතාවල ඇත්ත ගැබ්වී තිබිණි. මා වඩාත් පුදුම වූයේ රස කතා කීමේ දක්ෂ ඔහු නොසිඳෙන උල්පතක් සේ එකපිට එක කතා ඇද බෑ නිසාය. දුම්රිය මැදිරියේ හැම කෙනෙක්ම ඔහුට ඇලුම් කළහ. නොවොසිබී-

ර්ස්ක් අසල තැනක අපේ දුම්රිය විනාඩියකට නවත්වනලදී. ජනේලය අසල සිටි මම ඔහු කී විහිළු කතාවක් නිසා සිනාසුනෙමි.

දුම්රිය ගමන් වේගය වැඩිකළේය; කුඩා දුම්රිය පොළක් පසුකර වේගයෙන් යන දුම්රිය අතුරු පාරකට හැරුණේය. ජනේලය අසල සිටි මම වීසිවී ගියෙමි. නැවත මා ජනේලය අසලට ගිය විට, ඔහු, දුයිෂෙන් එතැන සිටි-යේය. දුම්රිය සංඥා කොඩියක් අතේ ඇතිව ඔහු මඩුව තුළ සිටියේය. මට කුමක් වීදැයි මම නොදත්තෙමි.

"නැවතියල්ලා!" මම හඬ නගා කෑගැසු-වෙමි. මැදිරියේ සිටියහු පිටතට ආහ. කුමක් කරම්දැයි නොදත් මම හදිසි අවස්ථාවලදී දු-ම්රිය නැවැත්වීම සඳහා කරකැවිය යුතු ඇණය දුටිමි. මුළු වැර යොදා ඒ ඇණය කරකැවීමි.

වේගයෙන් දුවමින් තිබූ දුම්රිය හදිසියේම නැවතීම නිසා දුම්රිය පෙට්ටි එකිනෙක හැපී නැවත ඒවා වේගයෙන් පස්සට වීසිවිණ. රාක්-කවල තිබූ මගීන්ගේ බඩු බාහිරාදිය බිම වැටිණ. පිඟන් කෝප්ප වීදුරු ආදිය බිඳිණ. ළමයි හා සමහර කාන්තාවෝ මොර ගැහ. ඒ හඬ යටපත් කරමින් එකෙක් "මිනිහෙක් දුම්රියට යටවෙ-ලා" යැයි බෙරිහන් දුන්නේය.

මේ වනවිට දුම්රිය මැදිරියේ පා පුවරුව අසලට වූ මම පහළ මොනවා තිබෙන්නේදැයි

නොදන්න බිමට පැන මා ඉදිරියේ කුමක් තිබේදැයි නොදන්න වේගයෙන් සංඥා දෙන්නා වෙත, ඉුයිෂෙන් වෙත දිව ගියෙමි. දුම්රිය කොන්දොස්තරවරු නළා පිම්බාහ. දුම්රිය මැදිරිවලින් පිටතට පැනගත් සමහර මගීහු මා පස්සේ දුවආහ.

වැට දිගේ එකහුස්මට මම දිව්වෙමි. දුයිෂෙන් මා හමුවීමට පෙරට දුව ආවේය.

ඔහුගේ ගෙල බදාගත් මම ''දුයිෂෙන්, ගුරුතුමා!'' යැයි කෑගැසුවෙමි.

කිසිවක් නොතේරෙන බැල්මකින් යුතුව සංඥා දෙන්නා මා දෙස බැලීය. ඔහු දුයිෂෙන්ම තමා. ඔහුගේ ඇස්, ඔහුගේ මුහුණ, වෙනසකට ඇත්තේ ඔහුගේ රැවුළත්, වයස් ගතවීමත් විතරයි.

''නංගියෙ උඹට මොකොද වෙලා තියෙන්නෙ?'' ඔහු කසාක් බසින් ඇසීය. ''වැරදීමක් වෙලා පටලවාගෙන වගේ. මගේ නම ජන්ගාසින් බෙයිනේද.''

''බෙයිනේද?''

වේදනාව, සංවේගය, හා ලජ්ජා බය නිසා උපන් හැඟීම් පිටකිරීමට හඬ නගා කෑගැසීමට උවමනාවක් තිබුණද අත්ලෙන් කටවසාගත්තේ කෙසේදැයි මම නොදනිමි. මා කළේ කුමක්ද? ඇතින් මූණ වසාගෙන හිස පාත්කරගත්තෙමි. පොළව විවෘත වී මා ගිලනොගත්තේ ඇයි?

සංඥා දෙන්නාගෙන් සමාව ඉල්විය යුතුව තිබිණ. මහීන්ගෙන්ද සමාව ඇයදීම මගේ යුතුකමය. එහෙත් මම කළු ගලක් සේ ගොළු වීමි. මා වට කරගෙන සිටි මහීන්ද නිශ්ශබ්ද වූයේ කුමක් නිසාදැයි මම නොදනිමි. දන් දන් මට බැණවැදී කෑ කෝ ගසනු ඇතැයි මම බලාපොරොත්තු වීමි. එහෙත් හැම දෙනාම ගොළුවන්සේ නිහඬ-වූහ. නිසලතාවය බිඳමින් කවුදෝ ගැහැණියක් මෙසේ කීවාය:

"අනේ පව් අවාසනාවත් ගෑනියක්, පුරුෂයා නැතිනම් සහෝදරයා කියලා රැවටුනා."

පිරිස කැළඹිණ.

"මදැයි රැවටුනා" එකෙක් ගොරෝසු හඬකින් කීය.

"යුද්දය නිසා වෙච්ච දේවල් මේකට විතරක් සීමා වෙලා නෑ..." යැයි අර ස්ත්‍රිය පිළිතුරු දුන්නාය.

සංඥා දෙන්නා මගේ අතින් අල්ලා ගනිමින් මෙසේ පැවසිය:

"යමු මම ඔයාව දුම්රිය පෙට්ටිය ළඟට ගිහිං ඇරලන්නම්."

ළඟ සිටි නිලධාරියෙක් අනිත් අත අල්ලා ගත්තේය.

"යමු, සහෝදරීය, අපට ඕව තේරුම් ගන්ට පුළුවනි."

මහීහු විසිර යන්නට වූහ. ඔවුන් මා දුම්රිය

මැදිරිය වෙතට ගෙනගියේ අවමඟුල් පෙරහැරකට සහභාගි වන්නාක් මෙනි. අපි හෙමින් ඉදිරියට ගියෙමු. පිටුපසින් අනිත් අය ගමන් කළෝය. අපට හමුවන මගීහු කිසිවක් නොදොඩා පිරිසට එක්වෙති. කවුදෝ කාන්තාවක් මගේ දෙඋර සළුවකින් වැසුවාය. දුම්රිය මැදිරියේ මා සමග ගමන් කරන අසල්වැසි මගියා සිය ලී කකුල බරකොට ඉදිරියට විත් මා දෙස ඕනෑකමින් බැලුවේය. නිතරම සිනාසෙන උපහාස කතාකාරයා, ඒ දයාබර වීර පුරුෂයා මා සමග ගමන් ගනිමින්, හිස පහතට නමා ගෙන හැඬුවේයැයි මම සිතමි. මමත් හැඬුවෙමි. දුම්රිය පොළ අසල වැට ඔස්සේ හෙමින් පා තබන මට උරුවම් බාමින් හඬනගන සුළං පාරක් ඇනෙයි. ඒ සුළං පාර විදුලි කම්බි හා කණු දිගේ දුවවිත් අවමඟුල් බෙර වාදනයක මුසු හඬක් මා දෙකන්හි බහාලීය: ''නෑ, මට ඔහු කිසි අවසක බලන්ට ලැබෙන්නේ නැහැ.''

දුම්රිය පෙට්ටිය අසලදී ප්‍රධානියා අප නවත්වමින් බැණ වැදුණේය. අබරැහිල්ල දිගු කරමින් තර්ජනය කළ හෙතෙම නඩු පවරන බවද අඩගසන බවද කියමින් ගුගුලේය. ඒ කිසිවකට පිළිතුරු නොදුන් මම කිසිදු වුවමනාවක් නොදක්වීමි. ඔහු චෝදනා මාලාවක් ලියා මට අත්සන් කරනලෙස පැන්සලයක් දුන්නේය.

එහෙත් ජැන්සලය එසවීමට තරම් ශක්තියක් මා තුළ නොතිබිණි.

එවිට මගේ අසල්වැසි මගියා ලී කකුලට බරවෙමින් නිලධාරියා අත තිබූ චෝදනා සහිත ලියවිල්ල උදුරාගෙන මහ හඬින් කෑගැසීය:

"ඒ මනුස්සයට නිවීහැනෙන් ඉන්ඩ දෙනව. දුම්රිය නවත්වන ඇණය කරකැවූයේ මමයි. මම ඒවට පිළිතුරු දෙනව. මම අත්සන් කරන්නම්!"

පමාවූ දුම්රිය රුසියානු සයිබීරියාව හරහා වේගයෙන් දිව්වේය. මගේ අසල්වැසි මගියාගේ ගිතාරය එදා රෑ දුක්බර ගීතයන් ගායනය කළේය. ගිතාරයෙන් පිටවූ දුක්මුසු යුද්ධ ගීතයන්ගේ රාවය, යුද්ධය නිසා වැන්දඹු බිරියන් බවට පත් ගැහැණුන්ගේ වැලපීම හා යුද්ධයේ බියජනක අවතාරය මා සිත වෙලාගති.

අවුරුදු ගෙවිණි. අතීතය අමතකව යන්නට විය. ලොකු සහ කුඩා දේවල නිතරවීම නිසා දෝ කාලය ගෙවිණ. මා විවාහ වූයේ පසු කලෙකදීය. මගේ සැමියා විනීත පුද්ගලයෙකි. අපට දූ දරුවෝද සිටිති. අප ජීවත් වන්නේ හොඳ මිත්‍රයින් මෙනි. දැන් මම දර්ශන විද්‍යාව පිළිබඳ මහාචාර්ය වරියක්මි. බොහෝ විට නගර ගම්වලට සහ විදේශීය රටවලටද යාමට සිදුවේ... එහෙත් අයිලයට නොගියෙමි. එසේ නො-

යාමට හේතූන් එමට තිබුණද ඒවා සියල්ල සාධාරණයැයි කීමට මම ඉදිරිපත් නොවෙමි. මගේ ගම්වැසියන් සමග සබඳකම් තබානොගැනීම සමාව දිය නොහැකි වරදකි. එහෙත් මගේ ඉරණම හැඩගැසුණු හැටියි ඒ. මගේ යටගියාව මට අමතක වීනැත. එය අමතක කළ නොහැකිය. තරමක් දුර මගේ යටගියාවෙන් මා ඈත්වුවා පමණකි.

කඳුවල මෙවැනි උල්පත් පැන නගී. ඒ වටා අඩිපාරවල් ඇතිවේ. මිනිස්සු අඩිපරවල් ඔස්සේ ගොස් උල්පත්වලින් ජලය ලබාගනිති. එහෙත් පුළුල් මාර්ග ඇතිවූ පසු අර අඩිපාරවල් අමතක කර දමති. උල්පත් වටා කෙමෙන් කටුවැල් වැවී මුළු ගැනේ. අවට සිට බලන්නෙකුට ඒ උල්පත් නොපෙනේ. රස්නෙ ඇති දවසක කෙනෙක් සිය පිපාසය නිවාගැනීම පිණිස මහ මගින් ඉවත්වී අර උල්පත සොයා එති. මුළු ගැන්වී තිබෙන උල්පත සොයා එමින් ඒ වටා ඇති වල් පැලෑටි සහ කටුවැල් උදුරා දමති. කිසිකෙනෙකු විසින් හෝ අපිරිසිදු නොකරන ලද ඒ උල්පතේ ප්‍රණීත සිසිල් ජලය නිසලව ගලා බසිමින් නිල්වන් කැටපතක් සේ විනිවිද පෙනේ. එවිට උල්පත තුළින් තමාද හිරු සහ අහසද කඳුවැටිද පෙනෙන්නාසේය... එවැනි සුන්දර තැන් ගැන අන් අයට නොදන්වා සිටීම පාපයක් ලෙස ගණන් ගන්නා අර මිනිසා ඞ්..

සගයන්ටද ඒ බව දන්වීමට ඉටාගන්නා නමුදු පසුව එය අමතක කර දමයි.

එදිනෙදා ජිවිතයේද මෙලෙසෙම සිදුවේ. එහෙත් එය ජීවිතය ය...

මම මේවර අයිලයට ගියපසු එවැනි දිය උල්පත් ගැන මතක් කළෙමි.

හිටිහැටියේම මා කුර්කුරේඋවෙන් එදා පිටවුනේ මන්දයි ඔබ මගෙන් අසනු ඇත. මා දන් කී කතාව එදා රැස්ව සිටි මිනිසුන් ඉදිරියේ නොකීවේ ඇයි? මසිතෙහි කොතරම් ලජ්ජාවක් හටගත්තේදයත් සිහිවිකල වී ගියාක් මෙන් දනිණි. ලජ්ජාව උහුලාගන්ට බැරිවූ නිසා මම හදිසියෙන්ම ගමෙන් පිටවුනෙමි. දුයිෂෙන් හමුවී ඔහු දෙස කෙළින් බැලීමට ආත්ම ශක්තියක් මා තුළ නැති බව වැටහිණ. සන්සුන්ව සියල්ල දෙස නැවත කල්පනා කර බලා සිත එක්තැන් කරගෙන මවිසින් කිවයුතු දේ ගම්මුන්ට සහ මිතුරන්ටත් කීම සඳහා පිළියෙල විය යුතුයැයි හැඟිණ.

මා වැරදිකාරියක් බව හැඟීගියේ මට පෙන්වූ ගරුසත්කාර ලැබිය යුත්තේ මා නොවන බව ඒත්තු ගිය නිසාය. එදා ඒ අළුත් පාසල විවෘත කරන ආ මුල් පුටුව දියයුතුව තිබුණේ මට නොවේ. ඒ ගරු සැලකිල්ල පිදිය යුතුව තිබුණේ අපේ පළමුවැනි ගුරුවරයා සහ අයිලයේ පළමුවැනි කොමියුනිස්ට්වාදියා වන දුයිෂෙ-

න්ටය. එහෙත් වූයේ අනිකකි. අපි උත්සව මේසවටා රැස්ව කාබී ප්‍රීති වුනෙමු. එහෙත් ඒ රත්රන් මිනිහා ලියුම් බෙදීම සඳහා, සිය කාරීය ඉටුකිරීම සඳහා ගියේය. පාසල විවෘත කිරීමේ උත්සවයට ආදි සිසුන්ගේ සුබපැතුම් ගෙන ඒම සඳහා යුහුසුලු විය.

මෙවැනි සිද්ධීන් වන පළමුවැනි වතාව මෙය නොවේ. කීපවරක්ම එවැනි දේ මගේ ඇසට හසුවී තිබේ. ඒනිසා මෙවැනි ප්‍රශ්නයක් මම ඉදිරිපත් කරමි. ලෙනින් ගරු සැලකිලි දක්වූ ආකාරයට, වාම් මිනිසාට දිය යුතු නියම ගරුත්වය දීමට තිබෙන හැකියාව අප කෙරෙන් ඇත් වූයේ කවදාද? මෙවැනි අඩුපාඩු කම් ගැන අප ආත්ම වංචාවෙන් තොරව කීමට ඉදිරිපත් වීමද ලොකු ජයකි. එවැනි දේවලදී අප ලෙනින්ට තවත් කිට්ටුවීම ඉතා හොඳ දෙයකි.

සිය කාලය තුළදී දුයිෂෙන් මොන විධියේ ගුරුවරයෙකුවැ සිටියේද යන්න ගැන තරුණ පරපුරු නොදනිති. පැරැන්නන්ගෙන් බොහෝ දෙනෙකු අද පීවතුන් අතර නැත. දුයිෂෙන්ගේ ගෝලයින්ගෙන් බොහෝ දෙනෙක් යුද්ධයේදී මීය ගියහ. ඔවුහු නියම සෝවියට් වීර සෙබළුන් මෙන් සටන් කළෝය. අපේ පළමුවැනි ගුරුවරයා දුයිෂෙන් ගැන තරුණ පරම්පරාවට කියා දීම මගේ යුතුකමය. මගේ තත්වයට වැටෙන වෙන කෙනෙක් වුවද එසේ

කළ යුතුය යනු මගේ හැඟීමයි. මම අයිලයට නොගියෙමි. දුයිෂෙන් පිළිබඳ තොරතුරු මට නොලැබිණි. කාලය ගෙවී යත්ම දුයිෂෙන් කෞතුක වස්තුවක් බවට පත්ව මගේ හදවතෙහි නිසල තැනක තැන්පත් විය.

මගේ ගුරුතුමා හමුවීමට නැවත වරක් මම ගමට විත් ඔහු ඉදිරියේදී සමාව ඉල්ලා ගනිමි.

මොස්කව් සිට අයිලයට ගොස් සාදනලද අළුත් පාසල හා නේවාසිකාගාරය "දුයිෂෙන්ගේ පාසල" ලෙස නම්කළ යුතුයැයි යෝජනා කරමි. ඔව්, එම පාසලට ඒ වාම් සමූහ ගොවියාගේ, ලියුම් බෙදන්නාගේ නම යෙදිය යුතුය. මගේ ගම්වැසියන් මේ යෝජනාව පිළිගනු ඇතැයි මම විශ්වාස කරමි. මේ ගැන ඔබේ පිහිට පතමි.

---

දැන් මොස්කව් වේලාව රෑ දෙකය. මා නවාතැන් ගෙන සිටින මොස්කව් හෝටලේ සඳළුතලයේ හිඳ නිවීයන පහන් දෙස බලමින් මා සිතන්නේ, අයිලයට ගොස් ගුරුතුමා හමුව ඔහුගේ සුදු පැහැති යටි රැවුළ සිපන සැටිය...

මම ජනේලය හැරිමි. සිසිල් සුළං කාමරයට වදී. හිමිදිරි පාන්දර අලෝකයේ ආධාරයෙන් මගේ දර්ශන දෙස බලමි. අඳින ලද දර්ශන බොහෝය. හිමිදිරි පාන්දර අරුණෝදය නිසා

පිබිද ඇවිදින මම කල්පනා කරමි. එසේ කල්පනා කරන හැමවිටකදීම මට හැඟී යන්නේ මගේ දර්ශන තවමත් සිතුවිලි දාමයකට පමණක් සීමාවී තිබෙන බවය.

එසේ වුණද ඇඳ අවසාන නොකළ ඒ පින්තූර ගැන ඔබ සමග කතාකිරීමට මා කැමතිය. ඔබේ උපදෙස් මට බෙහෙවින්ම වටී. මා අඳින චිත්‍රය පළමුවැනි ගුරුවරයාට, අපේ අයිලයේ පළමුවැනි කොමියුනිස්ට් වාදියාට, දුයිෂෙන්ට කැප කරන බව ඔබ දැනටමත් දන්නවා ඇතැයි මම සිතමි.

සටන් වලින් පිරී, ඒ අසීරු ජීවිතයත්, විවිධ ඉරණම්වලට කැපවූ මිනිස් හැඟීම් සහ බලාපොරොත්තුත් තෙලි තුඩින් හා සායම්වලින් පිළිබිඹු කළ හැකිදැයි මම නොදනිමි. සියල්ල කැටිකොට දක්වීමට තරම් ශක්තියක් මට තිබේද. මා ආසා කරන්නේ මගේ අදහස් ඔබට කියාපෑමට පමණක් නොවේ. ඔබ මා සමග එක්වී නිර්මාණාත්මක කලාවේ කොටස්කරුවෙකු විය යුතුය.

මට ඒ දර්ශනය නොඇඳ සිටිය නොහැකිය. එහෙත් ඒ ගැන සිතනවිට පවා කොතරම් අදහස් හා සිතුවිලි මා වෙත ගලා එතිද! මට එය කොහෙත්ම අඳින්ට බැරියැයි සමහර විට හැඟේ. එවිට මම මෙසේ සිතමි: ඉරණම මා සිත්තරෙකු කළේ ඇයි? එය දුකින් බර ජීවිත-

යකි! එහෙත් සමහර විට මට හැඟෙන්නේ මා මහා බලසම්පන්නයෙකු ලෙසය, කඳු පෙරලා දැමීමට වුවද එවිට මා සූදානම්ය. එවිට මම මෙසේ සිතමි: බලපන්, ඉගෙනගනින්, තෝරාගනින්. දුයිෂෙන්, අල්තීනායි සහ පොප්ලර් ගස් දෙකේ දර්ශනය ඇඳපන්. ඉතිහාසය නොදන්නා වුවද කුඩා කාලයේ විශාල ප්‍රීතියක් හා සතුටක් ගෙනදුන් ඒ පොප්ලර් ගස් දෙක චිත්‍රයට නගපන්. පාවහන් නැති අව්වට දැවී ගිය කොල්ලෙකුගේ රූපයක් ඇඳපන්. ඔහු පොප්ලර් ගසක මුදුනට නැගී එහි අත්තක් උඩ ඉඳගෙන පුදුමයට පත්ව ඈත බලා ඉන්නා සැටි චිත්‍රයට නැගිය යුතුය.

එසේ අඳින චිත්‍රයක් "පළමුවැනි ගුරුවරයා" ලෙස නම්කරපන්. සමහර විට දුයිෂෙන් ගඟ හරහා කුඩා ළමයින් පාසලට ගෙනයනවා දර්ශනයට ඇතුළු කළ යුතුය. ඔවුන් අසලින් අසුන් පිට නැගී යන තරබාරු මෝඩ මිනිසුන් රතු පාට සිවල් හමින් කළ හිස්වැසුම් පැළඳගෙන සිටින සැටිද පෙන්වපන්...

එහෙමත් නැතිනම් ගුරුවරයා, අල්තීනායි නගරයට යන අවසේ සමුගන්නා සැටි චිත්‍ර ගත කරපන්. මතකද ඔහු අන්තිම වරට කෑගැසූ සැටි! අල්තීනායි අද වනතුරුත් අමතක නොකරන, සෑම මිනිසෙකුගේම හදවත පණගැන්විය හැකි දුයිෂෙන්ගේ හඬ චිත්‍රයට නගපන්.

මා තනියම කතාකරන සැටිය ඒ. මටම නිතරම මා නොයෙක් දේ කියා ගත්තද ඒ සියල්ල ක්‍රියාවට යෙදිය නොහැකිය. මා අඳින චිත්‍රය මොන විධියේ එකක් දැයි කීමට මා අපොහොසත්ය. එහෙත් මම ස්ථිරවම එක් දෙයක් දනිමි: මම සොයන්නෙමි.

---

## පාඨකයින් වෙතටයි

මෙම පොතෙහි අඩංගු කරුණු, අනුවාදය හා මුද්‍රණය පිළිබඳව ඔබගේ අදහස් සහ අනාගත මුද්‍රණ සඳහා යම් යෝජනා ඇතොත්, දේදුන්න ප්‍රකාශකයන් වෙත දන්වා එවන ලෙස කෘතඥතා පූර්වකව ඉල්ලා සිටිමු.

ඔබේ සියලු ඇමතුම් පහත සඳහන් ලිපිනයට යොමු කරන්න.

Rainbow Publishers
17, Zubovsky Boulevard
Moscow, USSR



මේ පොතෙහි විස්තර කෙරෙන සිද්ධින්, කිර්ගීසියාවේ සෝවියට් බලය ස්ථාපනය වීමේ කාලය වූ විසි ගණන් වලට අයත් වේ. තරුණ අල්තිනායිට සහ ඇත කඳුකරයේ වුසූ කිර්ගිස් ජාතිකයින්ට සෝවියට් දේශයේ නීති ගෙනා තරුණ ගුරුවරයෙකු වූ දුයිෂේන් හමු වූයේ මෙම කාලයේදීමය. තම තරුණ විය හා පළමුවැනි ආලය ගැන අල්තීනායි විසින්ම ඉදිරිපත් කෙරෙන, විස්තරයක් මෙන් මේ පොත ලියන ලදී.

අප ඉදිරිපත් කරන මේ නවකතාවේ කතුවරයා සුප්‍රසිද්ධ සෝවියට් ලේඛක ලෙනින් ත්‍යාගය හා රාජ්‍ය ත්‍යාගය දිනාගත් චිංගීස් අයිත්මාතව් (උපත 1928) ය.

